# ක්‍රිස්තියානි ධර්මය

## 6 ශ්‍රේණිය

අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව



# ශ්‍රී ලංකා ජාතික ගීය

ශ්‍රී ලංකා මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
සුන්දර සිරිබරිනී, සුරැඳි අති සෝබමාන ලංකා
ධාන්‍ය ධනය නෙක මල් පලතුරු පිරි ජය භූමිය රම්‍යා
අපහට සැප සිරි සෙත සදනා ජීවනයේ මාතා
පිළිගනු මැන අප භක්ති පූජා
නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා
ඔබ වේ අප විද්‍යා ඔබ ම ය අප සත්‍යා
ඔබ වේ අප ශක්ති අප හද තුළ භක්ති
ඔබ අප ආලෝකේ අපගේ අනුප්‍රාණේ
ඔබ අප ජීවන වේ අප මුක්තිය ඔබ වේ
නව ජීවන දෙමිනේ නිතින අප පුබුදු කරන් මාතා
ඥාන වීර්ය වඩවමින රැගෙන යනු මැන ජය භූමි කරා
එක මවකගෙ දරු කැල බැවිනා
යමු යමු වී නොපමා
ප්‍රේම වඩා සැම භේද දුරැර ද නමෝ නමෝ මාතා
අප ශ්‍රී ලංකා, නමෝ නමෝ නමෝ නමෝ මාතා

අපි වෙමු එක මවකගෙ දරුවෝ
එක නිවසෙහි වෙසෙනා
එක පාටැති එක රුධිරය වේ
අප කය තුළ දුවනා

එබැවිනි අපි වෙමු සොයුරු සොයුරියෝ
එක ලෙස එහි වැඩෙනා
ජීවත් වන අප මෙම නිවසේ
සොඳින සිටිය යුතු වේ

සැමට ම මෙත් කරුණා ගුණෙනී
වෙළී සමගි දමිනී
රන් මිණි මුතු නො ව එය ම ය සැපතා
කිසි කල නොම දිරනා

ආනන්ද සමරකෝන්

# පෙරවදන

දියුණුවේ හිණිපෙත කරා ගමන් කරනා වත්මන් ලොවට, නිතැතින්ම අවැසි වනුයේ වඩාත් නව්‍ය වූ අධ්‍යාපන ක්‍රමයකි. එමඟින් නිර්මාණය කළ යුත්තේ මනුගුණදම් සපිරුණු හා කුසලතාවලින් යුක්ත දරුපරපුරකි. එකී උත්තුංග මෙහෙවරට ජව බලය සපයමින්, විශ්වීය අභියෝග සඳහා දිරියෙන් මුහුණ දිය හැකි සිසු පරපුරක් නිර්මාණය කිරීම සඳහා සහාය වීම අපගේ පරම වගකීම වන්නේ ය. ඉගෙනුම් ආධාරක සම්පාදන කාර්යය වෙනුවෙන් සක්‍රීය ලෙස මැදිහත් වෙමින් අප දෙපාර්තමේන්තුව ඒ වෙනුවෙන් දායකත්වය ලබා දෙන්නේ ජාතියේ දරුදැරියන්ගේ නැණ පහන් දල්වාලීමේ උතුම් අදිටනෙනි.

පෙළපොත විටෙක දැනුම් කෝෂ්ඨාගාරයකි. එය තවත් විටෙක අප වින්දනාත්මක ලොවකට ද කැඳවාගෙන යයි. එසේම මේ පෙළපොත් අපගේ තර්ක බුද්ධිය වඩවාලන්නේ අනේකවිධ කුසලතා පුබුදු කරවාගන්නට ද සුවිසල් එළි දහරක් වෙමිනි. විදුබිමෙන් සමුගත් දිනක වුව අපරිමිත ආදරයෙන් ස්මරණය කළ හැකි මතක, පෙළපොත් පිටු අතර දැවටී ඔබ සමඟින් අත්වැල් බැඳ එනු නොඅනුමාන ය. මේ පෙළපොත සමඟම තව තවත් දැනුම් අවකාශ පිරි ඉසව් වෙත නිති පියමනිමින් පරිපූර්ණත්වය අත් කරගැනුමට ඔබ සැම නිරතුරුව ඇප කැප විය යුතු ය.

නිදහස් අධ්‍යාපනයේ මහානර්ඝ ත්‍යාගයක් සේ මේ පුස්තකය ඔබ දෝතට පිරිනැමේ. පෙළපොත් වෙනුවෙන් රජය වැය කර ඇති සුවිසල් ධනස්කන්ධයට අර්ථසම්පන්න අගයක් ලබා දිය හැක්කේ ඔබට පමණි. මෙම පාඨ්‍ය ග්‍රන්ථය මනාව පරිශීලනය කරමින් නැණ ගුණ පිරි පුරවැසියන් වී අනාගත ලොව ඒකාලෝක කරන්නට දැයේ සියලු දූ දරුවන් වෙත දිරිය සවිය ලැබේවායි හදවතින් සුබ පතමි.

පෙළපොත් සම්පාදන කාර්යය වෙනුවෙන් අප්‍රමාණ වූ සම්පත්දායකත්වයක් සැපයූ ලේඛක, සංස්කාරක හා ඇගයුම් මණ්ඩල සාමාජික පිරිවරටත් අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුවේ කාර්ය මණ්ඩලයේ සැමටත් මාගේ හදපිරි ප්‍රණාමය පුදකරමි.

**පී. එන්. අයිලප්පෙරුම**
අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව
ඉසුරුපාය
බත්තරමුල්ල
2020.06.26

**නියාමනය හා අධීක්ෂණය**

පී.එන්. අයිලප්පෙරුම - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් ජනරාල්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**මෙහෙයවීම**

ඩබ්ලිව්.ඒ. නිර්මලා පියසීලි - අධ්‍යාපන ප්‍රකාශන කොමසාරිස් (සංවර්ධන)
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සම්බන්ධීකරණය**

ආර්. ඩී. විජේවික්‍රම - නියෝජ්‍ය කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**සහාය සම්බන්ධීකරණය**

එස්.ජී.ඩී.එන්.එල්. සමරකෝන් - සහකාර කොමසාරිස්
අධ්‍යාපන ප්‍රකාශන දෙපාර්තමේන්තුව

**අනුශාසකත්වය**

ගෞ. රියන්සි පෙරේරා
දේවගැතිතුමා - අනුනායක, ගාලු පදවිය

ගෞ. ඩබ්. පී. එබනේසර් ජෝශප්
දේවගැතිතුමා - මහලේකම්,
ක්‍රිස්තියානි අධ්‍යාපන කොමිසම
ජාතික ක්‍රිස්තියානි මණ්ඩලය.

**සංස්කාරක මණ්ඩලය**

එම්. හේමචන්ද්‍ර පෙරේරා - සහකාර අධ්‍යාපන අධ්‍යක්ෂ (විශ්‍රාමික)
(ක්‍රිස්තු ධර්මය විෂයය)
අධ්‍යාපන අමාත්‍යාංශය.

බියුලා රෝසා - විද්‍යාපීඨ කථිකාචාර්ය. (විශ්‍රාමික)

මහේෂ්වරී සභාරන්ජන් - නියෝජ්‍ය අධ්‍යාපන අධ්‍යක්ෂ,
සම්බන්ධීකරණ නිලධාරී (ක්‍රිස්තු ධර්මය)
අධ්‍යාපන අමාත්‍යාංශය.

## ලේඛක මණ්ඩලය

| | | |
|---|---|---|
| ගරු ජේ. ඒ. මිහිරි ද සිල්වා සල්ගාදු දේවගැතිතුමිය | - | ලේකම්,<br>ක්‍රිස්තියානි අධ්‍යාපන කොමිසම,<br>ජාතික ක්‍රිස්තියානි මණ්ඩලය |
| එල්. නිලන්ති දීපා ද සිල්වා | - | ගුරු වෘත්තිය,<br>මෙතොදිස්ත උසස් විද්‍යාලය,<br>පුවක්අරඹ, මොරටුව |
| එම්. රදීකා සමන්ති මෙන්ඩිස් | - | ගුරු වෘත්තිය,<br>සාන්ත තෝමස් විද්‍යාලය,<br>ගල්කිස්ස. |
| විනීතා එම්. ද සිල්වා | - | ගුරු වෘත්තිය, (විශ්‍රාමික) |
| අරුණි ජයතුංග | - | ගුරු වෘත්තිය,<br>බිෂොප් විද්‍යාලය, කොළඹ |
| ගෞ. සී. ඩබ්. සී. බාල්රාජ් දේවගැතිතුමා | - | විද්‍යාලපති,<br>ශාන්ත තෝමස් විද්‍යාලය,<br>බණ්ඩාරවෙල. |
| ඩී. ග්ලෝරි හෙබ්සිබා | - | ගුරු වෘත්තිය,<br>ගම්පොළ හින්දු විද්‍යාලය,<br>ගම්පොළ. |
| එන්. පී. සෙල්වනිදි පෙරේරා | - | ගුරු වෘත්තීය, වෙස්ලි විද්‍යාලය<br>කොළඹ. |

## භාෂා සංස්කාරක

| | | |
|---|---|---|
| ගෞ. රෝහිත ද සිල්වා දේවගැතිතුමා | - | කුලාචාර්ය, වෙස්ලි විද්‍යාලය,<br>කොළඹ. |

## පරිගණක අක්ෂර සංයෝජනය හා පිටු සැලසුම්කරණය

ෂර්වෝන් මෙන්ඩිස්

## පිටකවරය

සජිත් ඉෂාන් හෙට්ටිආරච්චි

# පටුන

# 1. මනහර දේව මැවිල්ල

**අලුත් වසරේ පළමුවන පාඩම අපි ගීතිකාවකින් ආරම්භ කරමු.**

1. ඉර සඳ හා තරුවැල් මවලා
ගහකොළ හා සියොතුන් මවලා
ඇල දොළ ගංගා--සුදු පෙණ නංගා
ලස්සන මේ ලෝකය නිමවා

2. බෝවිටියා දං හිඹුටු මසං
අඹ දඹ නාරං පැණි රඹුටන්
පලතුරු මවලා - එහි පැණි පුරලා
ලස්සන මේ ලෝකය නිමවා

3. බටිති මලිති හා පොල්කිච්චන්
ගිරා කොබෙයියන් කැදැත්තන්
කුරුළු විමානය ලොව උදානය
ලස්සන මේ ලෝකය නිමවා

4. පාට පාට රන් සමනලයින්
රෑන රෑන ගුමු මී මැස්සන්
මල්රොන් අරගෙන මී වද පුරවන
ලස්සන මේ ලෝකය නිමවා

5. රෝස පිච්ච අරලිය සපුමල්
දෑස පිනන නිල් කටරොළු මල්
නිල් මහනෙල් මල් සමන් නෙළුම් මල්
මේ සැම මැවූ දෙවි පිය වඳිමු




ගුරුතුමිය: ගායනය ඉතා මනහරයි. සැම දෙනාට ම අසිරිමත් නව වසරක් වේවා! මේ නව වසරේ අලුත් පන්තියක අලුත් පොත් ලබා ගෙන ඔබ සැම දෙනා අසුන් ගෙන ඉන්නේ පාඩම පටන් ගන්න තෙක් නේද? අප ගායනා කළ ගීතිකාවේ සඳහන් වන්නේ කුමක් ගැන ද? මේ අප ජීවත් වන ලස්සන ලෝකය මැවීම ගැන නේද?

දැන් අපි මිදුලට යමු, අවට තිබෙන ඒ ලස්සන දේවල් බලන්න. අපි කණ්ඩායම් තුනකට බෙදෙමු. කණ්ඩායම් මෙසේ නම් කරමු.

1.දර්ශිකා (දකින දේ ගැන) 2.සවන් (ඇසෙන දේ ගැන)
3.දනිත් (දැනෙන දේ ගැන)

පරිසරය දෙස පරීක්ෂාකාරී ව හොඳින් බලන්න. ඔබ නිරීක්ෂණය කරණ ලද දේ පත්‍රිකාවේ සටහන් කර ගෙන, ආපසු පන්තියට එන්න. සැම දරුවෙක් ම මේ ක්‍රියාකාරකමට සම්බන්ධ වෙන්න.(පරිසර නිරීක්ෂණය නිමවා පන්ති කාමරයට පැමිණි සිසු කණ්ඩායම් තම නිරීක්ෂණ මෙලෙස ඉදිරිපත් කරති.)

ගුරුතුමිය - පළමුවෙන් අපි අසමු "දර්ශිකා" කණ්ඩායමේ නිරීක්ෂණ ගැන.

දර්ශිකා - අප දුටුවා ගස්, මල්, බලුපැටියෙක්, කුරුල්ලෝ, දිමියෝ, කුහුඹි රංචු, අහසේ වළාකුළු, හිරු එළිය.

ගුරුතුමිය - දිග ලැයිස්තුවක්, බොහොම හොඳයි. දැන් "සවන්" ගේ කණ්ඩායම තම නිරීක්ෂණ ඉදිරිපත් කරන්න.

සවන් - පූස් පැටියෙක් ඤාව් ඤාව් ගානවා ඇසුණා. කුරුල්ලෝ අඹ ගස උඩ කිචි බිචි ගානවා. ගස් කොළන් සෙළවෙන හඬ, ක්‍රීඩා කරන ළමුන්ගේ හඬ, පාසලේ සීනු නාදය.

ගුරුතුමිය - හොඳට ඇහුම් කන් දී තියෙනවානේ. හරිම හොඳයි. දැන් "දනිත්" ගේ කණ්ඩායමේ නිරීක්ෂණ ඉදිරිපත් කරන්න.

දනිත් - මල්වලසුවඳ දැනුනා. අව්වේ රස්නය උණුසුම දැනුණා. සුළං හමනවිට මඳ සිසිලක් දැනුණා. කණ්ඩායම එහේ මෙහේ ඇවිදින විට හරිම සතුටක් දැනුණා. එක් කෙනෙකුට බඩගිනි දැනුණා ලු. ආ! මගේ ඇඟට වැහි පොදක් වැටෙනවා දැනුණා.

ගුරුතුමිය - හරිම දක්ෂ යි. හොඳින් කල්පනා කරන, නිවැරදි ව දකින හොඳින් සවන් දෙන දරුවන් පිරිසක් මේ වසරේ මගේ පන්තියේ සිටීම ගැන මට සතුටු යි. දැන් අප සැම දෙනාට ම අප අවට ලෝකය ගැන මනා දැනුමක් ලැබුණා නේද? අප අවට තිබෙන මැවිල්ල කොතරම් මනහර ද? මේ පුදුමාකාර මැවිල්ල අපට මවා දුන්නේ කවුද කියා බලන්නට, අපි ශුද්ධ වූ බයිබලය පෙරලා බලමු. එහි පළමු පොතේ නම බලමු .

සවන් - උත්පත්ති පොත.

ගුරුතුමිය - හරි දරුවනේ "උත්පත්ති" කියා කියන්නේ ආරම්භය නේද? දැන් අප ශුද්ධ බයිබලයේ සත්‍ය වූ දේව වචනය කියවන්නයි යන්නේ. එක එක දරුවා බයිබල් කොටස පිළිවෙළට පැහැදිලි ව කියවන්න ඕනෑ.

දයාන් - **ආරම්භයේ දී දෙවියන් වහන්සේ අහසත් පොළොවත් මැවූ සේක.**

**උත්පත්ති 1:1**

ගුරුතුමිය - බලන්න, ශුද්ධ බයිබලය ආරම්භ කරන්නේ මැවිල්ල හා මැවුම්කාර දෙවියන් වහන්සේ පිළිබඳ ව සත්‍ය ප්‍රකාශයකින් නේද? මැවිල්ලේ නිර්මාතෘ වන අපගේ එකම දෙවිඳාණෝ, පිළිවෙළකට පියවරින් පියවර සම්පූර්ණ කළා වූ මනහර මැවිල්ල ගැන අපි තවදුරටත් කියවා බලමු.

මිහිරි- - **“දෙවියන් වහන්සේ ආලෝකය වේවා” යි වදාළ සේක. ආලෝකය මනහර බව උන්වහන්සේ දුටු සේක. අන්ධකාරයෙන් ආලෝකය වෙන් කර, ආලෝකයට දවාල කියා ද, අන්ධකාරයට රාත්‍රිය කියා ද නම් තැබූ සේක. උත්පත්ති 1:3**

ගුරුතුමිය - ඔව්, එය මැවිල්ලට අදාළ පළමු වන දවස යි. දෙවියන් වහන්සේ මැවිල්ල, පිළිවෙළකට පියවරින් පියවර වෙන් වෙන් ව නිර්මාණය කිරීමට පටන් ගත් සේක.

භාග්‍යා - **මෙසේ දෙවියන් වහන්සේ අහස් කුස සාදා ඊට යටින් තිබෙන ජලය ඊට උඩින් තිබෙන ජලයෙන් වෙන් කර අහස් කුසට අහස කියා නම් තැබූ සේක. එය දෙවන දවස විය.**

**උත්පත්ති 1:6-8**

මා අහස දිහා හැමදාම බලාගෙන ඉන්නවා. මට දැන් තමයි තේරුණේ දෙවියන් වහන්සේ අහස මවා තිබෙන බව.



1.1 රූපය - දේව මැවිල්ල.

ගුරුතුමිය - ඒක තමයි භාග්‍යා. දෙවියන් වහන්සේගේ මැවීමේ කාර්යය අප නොදන්න බොහෝ දේවල් අපට අවබෝධ කර දෙනවා නේද? ඊළඟ පියවර කියවා බලමු.

අයෝමි: **"ඉන්පසු දෙවියන් වහන්සේ ගොඩබිම මතුවන පිණිස අහස යට තිබෙන ජලය එක තැනකට රැස් වේවා"යි වදාළ සේක. එසේම විය. ගොඩබිමට 'පොළොව' කියා ද ජලයට 'සාගරය' කියා ද නම් තැබූ සේක.**

**දෙවියන් වහන්සේ බීජ උපදවන ඇට සහිත ඵල දරන සියලු වර්ගවල ගස් කොළන් භූමියේ හට ගැනේවා යි වදාළ සේක. මෙසේ බීජ උපදවන ඇට සහිත ඵල දරන සියලු වර්ගවල ගස් කොළන් නිපදවිය. එය මනහර බව දුටු සේක. එය තුන් වන දවස යි. උත්පත්ති 1:9 - 13**

ගුරුතුමිය - අප දැන් දෙවියන් වහන්සේගේ මැවීමේ උතුම් ක්‍රියාවලියේ සතර වැනි දවසටත් පියමං කර ගෙන ඇවිත් නේද?

දිමුත් - මා හරිම ආසයි ආකාශ වස්තු ගැන දැනගන්න. මා ඒ ගැන කියවන්නම්.

ගුරුතුමිය - හොඳයි දිමුත් කියවන්න.

දිමුත් - **දෙවියන් වහන්සේ දවාල පාලනය කිරීම සඳහා සූර්යයා වන ලොකු ආලෝකය ද රාත්‍රිය පාලනය කිරීම සඳහා චන්ද්‍රයා වන කුඩා ආලෝකය ද සැදූ සේක. තාරකා ද සැදූ සේක. ඒ සතර වැනි දවස ය. උත්පත්ති 1:16**

ගුරුතුමිය - මීළඟට දෙවියන් වහන්සේ මවන්නේ ජීවමාන සතුන්. පස්වන දවසේ මැවූ දේ කියවන්න.

සමන් - **දෙවියන් වහන්සේ මෙසේ වදාළ සේක."ජලය අසංඛ්‍ය ජීවමාන සතුන්ගෙන් පිරී ඉතිරේවා. පක්ෂීහු පොළොවට උඩින් අහස් කුස හරහා පියඹා යත්වා." මෙලෙස දැවැන්ත තල් මසුන් ද ඔබමොබ පීනන ජලජ සතුන් ද නන් වැදෑරුම් පක්ෂීන් ද මැවූ සේක. උත්පත්ති 1:20-23**

දයාන් - කෝ තාම සිවුපාවුන්, බඩගා යන සතුන් මවලා නැහැනේ.

ගුරුතුමිය - මොහොතක් ඉවසන්න දයාන්, ඒවා මවන්නේ හය වන දවසේ දී. දයාන් ම කියවන්න. මේ දවස විශේෂ යි.

දයාන් - **දෙවියන් වහන්සේ විවිධ ගව මහීෂයන් ද උරගයින්, වන මුර්ගයන්, පොළොවෙන්ම නිපදවූ සේක. ඒවා මනහර බව උන්වහන්සේ දුටු සේක.** **උත්පත්ති 1:24-25**

දිමුත් - පාසලෙන් සත්තු වත්තට චාරිකාවක් ගිය දවසේ නම් මේ ඔක්කෝම සතුන් කූඩුවල, ගුහාවල අප දුටුවා. නමුත් දැන් තමයි දන්නේ සතුන්ගේ මැවීම ගැන ශුද්ධ බයිබලයේ සඳහන්ව තිබෙන බව. දෙවියන් වහන්සේගේ මැවිල්ල මා පුදුමයෙන් පුදුමයට පත් කළානේ.

ගුරුතුමිය - හය වන දවසේ දී තමයි මිනිසා මවනු ලැබුවේ. දැන් භාග්‍යා කියවන්න බලන්න. උත්පත්ති 1:27 හා 1:31

භාග්‍යා - **දෙවියන් වහන්සේ තම ස්වරූපය අනුව මිනිසා මැවූ සේක. දෙවියන් වහන්සේගේ ම ස්වරූපය අනුව ඔවුන් මවා වදාළ සේක. පුරුෂයා ද ස්ත්‍රිය ද වශයෙන් ඔවුන් මැවූ සේක.**
**උත්පත්ති 1:27**
**දෙවියන් වහන්සේ තමා මවා වදාළ සියලු දේ නරඹා ඉතා මනහර බව දුටු සේක.** **උත්පත්ති 1:31**



1.2 රූපය - දේව මැවිල්ල.

ගුරුතුමිය - දෙවියන් වහන්සේ ලොව මැවීමේ ක්‍රියාවලිය අවසානයේ දී පුරුෂයා හා ස්ත්‍රිය මවා මුළු මැවිල්ල සම්පූර්ණ කර නිමාවට පත් කළ සේක. මෙලෙස දේව ස්වරූපය දරන, දේව දරුවන්, මැවිල්ලට එකතු කර, මැවිල්ලේ මුළු පාලනය මැවුම්කරුවාණන් විසින් ම ඔවුන්ට විශ්වාසයෙන් භාර දුන් සේක. දේව ස්වරූපය දරන අපට උන්වන්සේට කථා කරන්නට, ඇහුම් කන් දෙන්නට, උන්වහන්සේගේ අණට ප්‍රතිචාර දක්වන්නට හැකියාව ද ලබා දුන් සේක. අනතුරුව උන්වහන්සේ සත්වන දවසට ආසිරි පතා එය ශුද්ධ දිනයක් ලෙස නම් කර විශේෂත්වයක් ලබා දුන් සේක. දේව දරුවන් ලෙස අප මෙම දවස තුළ මැවුම්කාර දෙවිඳුන්ට ගෞරවය පුදමින්, ස්තුති පූර්වක ව ප්‍රශංසාවෙන් දේව නමස්කාරයට සහභාගි වීම උන්වහන්සේ අපගෙන් බලාපෙරොත්තු වන සේක. දැන් අපි හිස් නමා මැවුම්කාර දෙවියන් වහන්සේටමුළු මැවිල්ල ගැන යාච්ඤාවකින් තුති පුදමු.

**කටපාඩම් කරමු.**
**උත්පත්ති 1:1-2**

ක්‍රියාකාරකම:

1. සෑම මැවිල්ලක් නිමාවේ දී එහි "මනහර" බව දුටු දෙවියන් වහන්සේ එම මැවිල්ල උදෙසා ඔබගෙන් බලාපොරොත්තු වන දේ ලියන්න.

# 2. දේව මැවිල්ලේ මහිමය

මුළු මැවිල්ලෙහි නිර්මාතෘ සර්වබලධාරී එකම දෙවියන් වහන්සේ බව පෙර පාඩමෙන් අපි පැහැදිලි ව අවබෝධ කර ගත්තෙමු. ඒ සඳහා අපට මග පෙන්වූයේ ශුද්ධ බයිබලය යි. එම සත්‍යය නොවෙනස් ව පවතී.

මුළු මහත් මැවිල්ල හා අපගේ ජීවිත නිර්මාණය කළ දෙවියන් වහන්සේ අපට ඇති ආදරය නිසා අපට ජීවත් වීමට අවශ්‍ය සියල්ල ම මැවිල්ල තුළින් ම සපයා දුන් බව ඔබ දන්නවා ද? අප අද ශුද්ධ බයිබලයෙන් ම සොයන්නට යන්නේ දෙවියන් වහන්සේ අපගේ සැපයුම්කරුවාණෝ ද වන බව ය.

**කියවා බලමු**

**උත්පත්ති 1 : 6-25**



හිමිදිරියේ සූර්යයා උදාවන විට අපගේ ජීවිතවලට ද අලුත් දවසක් උදා වේ. හිරු එළිය වැටෙන විට, අපි දවසේ වැඩ කටයුතු ආරම්භ කරමු. සූර්ය රශ්මියෙන් නික්මෙන ශක්තිය ගස්වැල්වල පැවැත්මට අත්‍යවශ්‍ය ය. සූර්ය තාපයෙන් විදුලිය නිපදවීමට පවා බුද්ධිමත් මිනිසා සමත් වී ඇත. හිරු බැස යාමත් සමග දවසේ වැඩ කටයුතු නිමවා, රාත්‍රී කාලයේ නින්දේ දී අපි විවේක සුවය ලබමු.

අප ගැන සලකන දෙවියන් වහන්සේ රාත්‍රිය ආලෝකවත් කිරීමට චන්ද්‍රයා අහසෙහි බැබළවූ සේක. එ මගින් රාත්‍රියේ, සාගරයේ සැරිසරන නාවිකයන්ට හා ධීවරයන්ට මග පෙන්වීම ලැබේ. චන්ද්‍රයාගේ බලපෑම තුළ සාගර ජලයේ වඩදිය, බාදිය ඇති වේ. විශේෂ කාල වකවානු තීරණය කිරීමට ද චන්ද්‍රයා උපයෝගී කරගනු ලැබේ. චන්ද්‍රයාගේ ආලෝකය

පමණක් නොව රාත්‍රී කාලයේ අහසේ දිදුළන තාරකා රටා අපට එළි දක්වන්නේ සුන්දර දර්ශනයකි. තාරකාවන්ගේ පිහිටීම අනුව සාගර තරණයේ දී දිශාවන් ගැන දැනුවත් විය හැකි ය. **දෙවිඳාණෝ සියලු ම ආකාශ වස්තූන් මැව්වේ මිනිසාගේ යහපත සඳහා ය. මේ අනුව මැවුම්කරුවාණන්ගේ සැපයීම ඉතා අගනේ ය.**


2.1 රූපය - දේව මැවිල්ල -ඉර, සඳ, තාරකා

මැවිල්ල තුළ අපට ජීවත් වන්නට ජලය අත්‍යවශ්‍ය වේ. ජලය නොමැති ව කිසිම දෙයක පැවැත්මක් නැත. කඳු මුදුන්වලින් රිද්මයකට ගලා බසින දිය ඇළි, ගංගා, ඇළදොළ, සාගර, මුහුදු, අපට සපයා දුන්නේ දෙවියන් වහන්සේ යි. උන්වහන්සේ අපෙන් බලාපොරොත්තු වන්නේ අප මේ සම්පත් ප්‍රයෝජනයට ගන්නා අතරම ඒවා රැක ගැනීම යි. මැවිල්ල අලංකාර කිරීමට විවිධ වර්ගයේ වෘක්ෂලතා මැවූ දෙවියන් වහන්සේ ඒ මගින් අපට පෝෂණය සුවය හා සෙවන ද සලසන සේක. ඒවා වර්ධනය කරමින් නිරන්තරයෙන් අපට අවශ්‍ය බොහෝ දෑ සපයා දෙන සේක. පෙර පාඩමේ අප කියැවූ **උත්පත්ති 1:11-12,** ඔබට මතක ද?


2.2 රූපය - දේව මැවිල්ල.

බීජ උපදවන ඇට සහිත එල දරන සියලු වර්ගවල ගස් කොළන් මවා ඒවා වැඩී එල දැරීමට දෙවියන් වහන්සේ සැලසූ සේක. අප භුක්ති විඳින එම එලදාව, උන්වහන්සේගේ සැපයුම යි. අපට **පෝෂණය** ලබා දෙන ගොයම, කොස්, දෙල්, පොල් මැවුම්කරුවාණන්ගේ සැපයුම යි. අපේ රටේ වැඩෙන ඉරමුසු, පොල්පලා, වෙනිවැල්ගැට වැනි **ඖෂධීය** පැළෑටි, අප සුවසෙත සඳහා සපයා ඇත්තේ, සැපයුම්කරුවාණෝ ය. අප රස බලන්නට ප්‍රිය කරන, රඹුටන්, මසං, නාරං, අඹ, වෙරළු, උගුරැස්සා වැනි **පළතුරු** උන්වහන්සේගේ අගනා සැපයීම් වේ. අපගේ නිවෙස්වලට අවශ්‍ය **ගෘහ භාණ්ඩ** සාදා ගැනීමට තේක්ක, කළුවර, බුරුත, නැඳුන් වැනි විශාල වෘක්ෂ උන්වහන්සේ සැපයූ සේක. මේ විශාල ගස් එක්වරම ලොකු ගස් වන්නේ නැත. කුඩා බීජයකින් විශාල ගසක් බවට ක්‍රමයෙන් වර්ධනය කිරීමේ ක්‍රියාවලිය කරනුයේ දෙවියන් වහන්සේ යි.



2.3 රූපය - දේව මැවිල්ල.

අපගේ ජීවිතවල ප්‍රසන්න හැඟීම් පුබුදු කරවන, පරිසරය සරසන, ලස්සන පාටැති, සුවඳ විහිදුවන මල්, කොපමණ ප්‍රියංකර ද? එහා මෙහා පියාසර කරන පක්ෂීන්, සමනලුන්, මී මැස්සන්, ඒ වගේ ම සිවුපාවුන්, මිනිස් ජීවිතයට ලබා දෙන තෘප්තිය වචනවලින් විස්තර කළ නොහැක. මේ සියල්ල අපට සපයා දෙමින් ස්වභාව ධර්මය අපගේ ජීවිතවලට සමීප කළේ දෙවියන් වහන්සේ ය. එමෙන් ම අලි ඇතුන්, ඔටුවන්, අශ්වයන්, ගවයන් වැනි සිවුපාවුන් අපගේ අවශ්‍යතාවන්ට සහාය වීමටත් මැවිල්ලේ අසිරිය පූර්ණ කිරීමටත් පොහොසත් වී ඇත. එපමණක් නොවේ ආදරය, කරුණාව කළගුණ සැලකීම, ආරක්ෂාව වැනි **උතුම් ගතිගුණ** ද සහිත සත්ත්ව ලෝකයේ ආදර්ශ ද අපට ලබා ගත හැකි ය.

 

2.4 රූපය - දේව මැවිල්ල.

මුළු මැවිල්ලේ මැවුම්කරුවාණන් වහන්සේ සැපයුම්කරුවාණන් ලෙස අපගේ අවශ්‍යතා සපුරා ගැනීමටත් අපගේ ජීවිතවලට වැඩි වටිනාකමක් දීමටත් මේ සියල්ල සපයා දුන් සේක. ඒවා ආරක්ෂා කරමින් භුක්ති විඳීම අපගේ වගකීම වේ. මේ සියල්ලේ සැපයීම තුළින් උන්වහන්සේගේ මහිමය ප්‍රකාශ වේ.

**සිතා බලන්න.**

**සමිඳාණෝ යහපත් ය.**

**එතුමන්ගේ ප්‍රේමය ස්ථිර ය.**

**සදහට ම පවත්නේ ය.**

**පරපුරෙන් පරපුරට එතුමන්ගේ විශ්වාසවන්ත කම පවත්නේ ය.**

**ගීතාවලිය 100 : 5**

**කටපාඩම් කරමු.**
**ජෝබ් 36 :27-28**

ක්‍රියාකාරකම:

1. අප රස විඳින බත් පිඟාන ඔබ අතට පත්වීමට පෙර ඒ වෙනුවෙන් දායක වන විවිධ ක්ෂේත්‍ර හා පුද්ගලයන් පිළිවෙළින් ලියා දක්වන්න.

2. මුළු මැවිල්ලේ මැවුම්කරුවාණෝ හා සැපයුම්කරුවාණෝ දෙවියන් වහන්සේ ය. එම මැවිල්ලේ අපගේ අවශ්‍යතා ඉටුකර දෙන 1. ශාක 2. සත්ත්ව 3. මිනිස් සේවාවන් වර්ගීකරණය කරන්න.

# 3. දේව නිර්මාණයේ මුදුන් මල්කඩ-මිනිසා




දෙවියන් වහන්සේ මේ ලෝකය ඉතා මනහර ලෙස මැවූ බවට, ඔබ පසු ගිය පාඩම් දෙක ඇසුරින් මේ වන විටත් දැනුවත් ව සිටී. ඉහළ අහස, පහත පොළොව, ආකාශ මණ්ඩලය, විවිධ ගස්වැල්, රසැති පළතුරු, සුවඳැති මල් වර්ග සහිත මේ ලෝකය දෙවියන් වහන්සේ අපට දුන් තිළිණ වේ. මේ මනහර ලෝකය ඔපවත් කරමින් ඇදහැලෙන දිය ඇලි, ගංගා, කරදිය ජලයෙන් පිරුණු මහා සයුරත් දියෙහි රඟන මසුන් හා ලොව පුරා ව්‍යාප්ත ව සිටින විවිධ සත්ත්ව වර්ගයා ගැනත් මෙනෙහි කරන කල මැවුම්කරුවාණන්ගේ උතුම්කම ඉතා හොඳින් පැහැදිලි වේ.

ශුද්ධ බයිබලයට අනුව මැවිල්ලේ උතුම් ම ස්ථානය හිමිකර ගන්නේ මිනිසා ය. එයින් අදහස් වන්නේ අප සියල්ලන්ගේ ම මැවුම්කරුවාණන් දෙවියන් වහන්සේ බවත් ඔබ සහ මා උන්වහන්සේ ඉදිරියේ ඉතා වටිනා අය බවත් ය. දෙවියන් වහන්සේ අප ව මැවූ බව ශුද්ධ බයිබලයේ මෙසේ ලියා තිබේ.

**දෙවියන් වහන්සේ තම ස්වරූපය අනුව මිනිසා මැවූ සේක.**
**දෙවියන් වහන්සේගේ ම ස්වරූපය අනුව ඔවුන් මවා වදාළ සේක.**
**පුරුෂයා ද ස්ත්‍රිය ද කොට ඔවුන් මවා වදාළ සේක.**
**උත්පත්ති 1 : 27-28**

එසේම දෙවියන් වහන්සේ තම ස්වරූපය අනුව පුරුෂයා හා ස්ත්‍රිය මවා තිබෙන නිසා මිනිසා මැවිල්ලේ ඉතා වටිනා ස්ථානයක් හිමි කර ගනී යි. එසේ ඔවුන් ව දෙවියන් වහන්සේ මවා තිබෙන නිසා, පුරුෂයා සහ ස්ත්‍රිය එක සමාන වටිනාකමකින් යුක්ත ය. දෙවියන් වහන්සේ තම ස්වරූපයෙන්

මිනිසා මවා වදාළ හෙයින් උන්වහන්සේට ප්‍රසන්න වන වටිනාකම් තුළ යහපත් ලෙස අප ජීවත් වීම අපේක්ෂිත ය.

**දරුවන් ලෙස දෙවියන් වහන්සේට ප්‍රසන්න වටිනාකම් හඳුනා ගනිමු, වර්ධනය කරමු, ආරක්ෂා කරමු.**




මෙම ගුණාංග ඔබගේ ජීවිතය තුළ කොතෙක් දුරට පවතිනවා දැ යි සිතා බලන්න. මෙම සමහර ගුණාංග වැඩි වශයෙන් ඔබ තුළ පවතින බව විශ්වාස ය. මෙම සියලු ම ගුණාංග යහපත් දරුවකු ලෙස මෙලොව ජීවත් වූ ජේසුස් වහන්සේ සතු විය. ජේසුස් වහන්සේ කිතුනු දරුවන්ගෙන් බලාපොරොත්තු වන්නේ ද මෙම යහපත් ගුණාංග හැකි තරම් අපගේ ජීවිතවල වර්ධනය කර ගැනීම ය.

ඔබගේ නිවසේ දී ද පාසලේ දී ද අසල්වාසීන් සමග ජීවත් වන කල හිතමිතුරන් සමග කාලය ගතකරන විට ද ආදරය, කරුණාව, ඉවසීම, බෙදා ගැනීම, එකමුතුකම හා කමාව යන උසස් ගුණාංග වර්ධනය කර ගැනීමට උත්සාහ කරන්න. ඒ සඳහා ජේසුස් වහන්සේගේ පිහිට පතන්න.

මේ ලෝකය නිර්මාණය කිරීමේ දී ඔබගේ ජීවිතය ලබා දුන්නේ දෙවියන් වහන්සේ ය. කිතුනු දරුවන් වන ඔබගෙන් උන්වහන්සේ යම් සුවිශේෂී මෙහෙවරක් ඉටු කරනු ඇතැයි අපේක්ෂිත ය. ඒ සඳහා ජේසුස් වහන්සේ තුළ රැඳෙමින් ඔබගේ ජීවිතය උන්වහන්සේ තුළ වැඩි වර්ධනය කර ගැනීමට උත්සාහ ගත යුතු වේ.

## ක්‍රියාත්මක වෙමු

- සැම කෙනකු ම ආදරයෙන් රැක බලා ගනිමු.
- සැම ළමයකු ට ම සහෝදරත්වයෙන් සළකමු.
- අපට හැකි අයුරින් දේව මැවිල්ල සුරකිමු.
- දේව මැවිල්ලේ දායාදයන් අරපිරිමැස්මෙන් භුක්ති විඳිමු.
- දේව මැවිල්ලේ උරුමය අනාගත පරපුරට දායාද කරමු.
- විශ්වයේ මැවුම්කාර දෙවිඳුන්ගේ මහිමය හා ශ්‍රේෂ්ටත්වය අත්දකිමු.
- මැවිල්ල ගැන තුති පුදමු.
- දෙවියන් වහන්සේ ට අපව වටිනවා සේ ම අන් අය ව ද වටිනා බව සිතට ගනිමු.

**ඒදන් උයන රැකබලා ගන්නා පිණිස දෙවියන් වහන්සේ මිනිසා රැගෙන එහි පදිංචි කළ සේක.**
**උත්පත්ති 2:15**

දෙවියන් වහන්සේ "ඒදන් උයන" නිර්මාණය කර මිනිසාට (ස්ත්‍රිය හා පුරුෂයා) ප්‍රීතියෙන් ජීවත් වීමට අවශ්‍යය පරිසරය සකස් කර එහි පදිංචි කළ සේක.

ඒ සමග ම ඔවුන්ට වගකීමක් ද භාර දුන් බව උත්පත්ති 2:15 පදය තුළින් පෙන්වා දෙයි. එම වගකීම වන්නේ, "උයන රැක බලා ගැනීම" යි. එම වගකීම මෙලොව තුළ ජීවත් වන අප සැමට ම අදාළ ය. අද ලෝකය තුළ පරිසරය විනාශ වෙමින් පවතින බව පෙනී යයි. අපට දෙවියන් වහන්සේ බාර දුන් ලෝකය සුරක්ෂිත කර ගනිමින් වගකීමෙන් යුතු ව කටයුතු කිරීම අපේක්ෂා කෙරේ. දරුවන් හැටියට එම වගකීම ඉටු කරන්නට අපි උත්සුක විය යුතු වෙමු.

**කටපාඩම් කරමු.**
**උත්පත්ති 1:27**

ක්‍රියාකාරකම:

1. පරිසරය විනාශ වන ආකාර පහක් සඳහන් කරන්න.
2. ඒ එක් එක් ව්‍යසනය වලක්වා ගැනීමට කළ හැකි පිළියම් යෝජනා කරන්න.

# 4. අසිරිමත් කිතු උපත

කිතුනු අපට ලොව සුවිශේෂී උපත වන්නේ ජේසුස් වහන්සේගේ උපත යි. උන්වහන්සේ මෙලොවට වැඩියේ අයහපතින් අපව මුදවා දෙවියන් වහන්සේට අයිති දරුවන් බවට පත් කරවන්නට යි. දෙවියන් වහන්සේ අපට ඇති ආදරය නිසා තම එක ම පුත් ජේසුස් වහන්සේ මෙලොවට එවූ සේක. ජේසුස් වහන්සේගේ උපතට සම්බන්ධ පුද්ගලයන් හා සිදුවීම් පිළිබඳ ව අධ්‍යයනයෙන් කිතු උපතේ සුවිශේෂී භාවය වටහා ගැනීම මෙම පාඩමෙන් අපේක්ෂිත යි.




## ගාබ්‍රියෙල් දේව දූතයා


4.1 රූපය - ගාබ්‍රියෙල් දේව දූතයා

ගාබ්‍රියෙල් දේව දූතයා දෙවියන් වහන්සේට සේවය කරන, සුබ ආරංචි ගෙනෙන දූතයා සේ හඳුන්වනු ලැබේ. ජේසුස් වහන්සේගේ උපත සඳහා මරියතුමිය ව තෝරා ගත් බව එතුමියට දැනුම් දුන්නේ ගාබ්‍රියෙල් දේව දූතයා ය. ළදරුවාගේ නම ජේසුස් විය යුතු බව ද එතුමාණෝ මිදුම්කරුවාණෝ බව ද දේව දූතයා විසින් ප්‍රකාශ කරන ලදි. (ශු. මතෙව් 1:21) දේව දූතයකු මෙම උපත දැනුම් දීම තුළින් ම උපතේ සුවිශේෂී බව ප්‍රකාශ වෙයි. ජේසුස් වහන්සේගේ උත්පත්තිය සම්බන්ධ ව එඬේරුන්ට දැනුම් දීම කරනු ලැබුයේ දේව දූත සමූහයක් මගිනි. මෙයින් ද අපට පෙනෙන්නේ ජේසුස් වහන්සේගේ උපතේ ඇති සුවිශේෂී භාවය යි.

## මරියතුමිය හා ජෝසෙප්තුමා



4.2 රූපය - මරියතුමිය හා ජෝසෙප්තුමා

ගාබ්‍රියෙල් දේව දූතයා දැනුම් දුන් ලෙස ජේසුස් වහන්සේගේ උපත සඳහා තමන් ව තෝරා ගත් බව ඇසූ කළ මරියතුමිය බිය වූවා ය. කැළඹුණා ය. නමුත් එතුමිය දේව කැමැත්තට එකඟ වෙමින් නිහතමානී ව යටත් වූවා ය.

ජෝසෙප්තුමා මෙම සුවිශේෂී දරු උපත සඳහා දේව අණට කීකරු වෙමින් මරියතුමිය රැකබලා ගත් බව පැහැදිලි ය.

## එඬේරුන්



4.3 රූපය - එඬේරුන්

ජේසුස් වහන්සේගේ උපත දේව දූතයන් මුලින් ම දැනුම් දෙනු ලැබුවේ එඬේරුන්ට ය. එය විශේෂ කරුණක් වන්නේ ප්‍රථමයෙන් එම උපත පිළිබඳ ශුභාරංචිය එකළ සමාජයේ පිළිගැනීමට ලක් නොකළ දුප්පත් එඬේරුන්ට දැනුම් දුන් බැවිනි. පණිවුඩය ලද විගස ම ඔවුහු ඊට ප්‍රතිචාර දක්වමින් බෙත්ලෙහෙමට පැමිණ බිළිඳු ජේසුස් වහන්සේ බැහැදැක නමස්කාර කළ හ. මෙම සුවිශේෂී බිළිඳා ඔවුහු දුටු හ. ඉන් අපට මෙම උපතේ සුවිශේෂී භාවය වඩා දැකිය හැකි ය.

# ශාස්ත්‍රවන්තයින්ට මග පෙන්වූ විශේෂ තාරකාව



4.4 රූපය - ශාස්ත්‍රවන්තයින්ට මග පෙන්වූ විශේෂ තාරකාව

ජේසුස් වහන්සේගේ උපතේ සුවිශේෂී බව ශාස්ත්‍රවන්තයින් විසින් වටහා ගනු ලැබුවේ අහසේ පෑවූ තාරකාව මගිනි.

මෙම තාරකාව ඔවුන්ට බෙත්ලෙහෙම කරා ගමන් කිරීමට මග පෙන්වා තිබේ. මොවුහු **රත්තරන්, තුවරලා හා ගන්ධරස** පුදා ජේසු බිළිඳාණන්ට නමස්කාර කළහ. ශාස්ත්‍රවන්තයන්ගේ නමස්කාරයත් මග පෙන්වූ තාරකාවත් ජේසුස් වහන්සේගේ උපතේ සුවිශේෂී භාවය සඳහා තවත් සාක්ෂ්‍ය වේ.

## ගව ඔරුව

ජේසුස් වහන්සේ නිසි ලෙස හඳුනා ගැනීමට දේව දූතයින් දුන් ලකුණ වූයේ **"රෙදි වලින් ඔතා ගවයින් කන ඔරුවක බාවා ඇති බිළිඳකු"** යන්න යි.

මෙය ඉතා වැදගත් වන්නේ දේව පුත්‍රයා දිළිඳු දරුවකු ලෙස ඉපදීමත් බෙත්ලෙහෙම් නගරයේ නවාතැන් පලක් නොලැබී, ගව මඩුවක උපත ලබන්නට සිදුවීමත් ය.



4.5 රූපය - ගව ඔරුව

ජේසුස් වහන්සේගේ උත්පත්තිය පිළිබඳ සිද්ධීන් අතර දේව දූතයන් ගැයූ ගීතිකාව උතුම් අර්ථයක් ප්‍රකාශ කරයි.



*"අති උසස් තැන්හි දෙවිඳුන්ට මහිමය ද මිහිපිට ප්‍රසාදය ලත් ජනයා අතර සාමය ද වේවා!"*



මෙලෙස ජේසුස් වහන්සේගේ උපතේ සුවිශේෂී බව වටහා ගනිමින් අප ද අපගේ ප්‍රතිචාරය දැක්විය යුතු ය. දේව දූතයින් ගැයූ ලෙසට උන්වහන්සේගේ උපත මුළු ලෝකයටම සාමය ගෙන දෙන උපතක් ලෙසට හඳුන්වා දිය හැකි ය. දෙවියන් වහන්සේ හා මිනිසා අතරත් මිනිසා හා මිනිසා අතරත් අසමගිය දුරු කරන්නටත් බිඳුණු සබඳතා ගොඩ නගන්නටත් ජේසුස් වහන්සේගේ උපතින් හැකි විය. එතුමා සාමයේ කුමාරයා සේ හඳුන්වනු ලබයි. සාමය නොමැති හදවත්වලට සාමයත් කොන් කරනු ලැබූ, පීඩාවට ලක් කරනු ලැබූ අයගේ ජීවිතවලට බලාපොරොත්තුවත් ජේසුස් වහන්සේ ගෙන ආ සේක. එදා එතුමන් උපත ලැබූ ජන සමාජයට සාමය ලැබුණේ යම් සේ ද අද සමාජයට ද ජේසුස් වහන්සේගේ උපත තුළින් සාමයේ පණිවුඩය ගෙන එනු ලබයි.

**කටපාඩම් කරමු.**
**ශු. ලූක් 2: 11-12**

ක්‍රියාකාරකම:

1. ශුද්ධවූ බයිබලයේ සඳහන් පරිදි බිලිඳු ජේසු බැහැදැකීමට පැමිණි අය නම් කරන්න.

2. නත්තල සැමරීම හා සම්බන්ධ ව කිතුනුවන් යොමු වන යහපත් පිළිවෙත් 3ක් පෙන්වා දෙන්න.

# 5. ජේසුස් වහන්සේගේ ළමා කාලය

**ජේසුස් වහන්සේ තම ළමා කාලය දෙවියන් වහන්සේගෙන් හා මිනිසුන්ගෙන් ප්‍රසාදය ලබමින් වැඩුණු සේක. උන්වහන්සේ ජෙරුසලම් දේව මාලිගාව, තම පියාණන්ගේ ගෘහය සේ සැලකූ සේක. එතුමා සතු වූ ආගමික දැනුම ද පුදුමාකාරය. ඒ පිළිබඳව දැක්වෙන මෙම පාඩමෙන් කිතුනු දරුවන් වන අපගේ ජීවිතවලට ගෙනෙන ආදර්ශය විමසා බලමු.**






5.1 රූපය - ජේසුස් වහන්සේ දේව මාලිගයේ පඬිවරු සමග

ජේසුස් වහන්සේ වයස අවුරුදු දොළහේ දී මරිය තුමිය හා ජෝසෙප් තුමා සමග ජෙරුසලමේ දේව මාලිගාවට ගිය සේක.

ජේසුස් වහන්සේ එසේ ගියේ යුදෙව් ව්‍යවස්ථාව අනුව වයස අවුරුදු දොළහේ පිරිමි දරුවකු වැඩිහිටියකු ලෙසට පිළිගැනුණ නිසා ය. එතැන් පටන් දේව මාලිගාවේ දී නමස්කාර කිරීමට ද අධ්‍යාපනය ලැබීමට ද දේව මාලිගාවේ පැවැත්වෙන මංගල්‍යයන්ට සහභාගි වීමට ද ඔවුන්ට අවස්ථාව සැලසෙන හෙයිනි.

ජේසුස් වහන්සේ දේව මාලිගාවට වයස අවුරුදු දොළහේ දී ගිය අවස්ථාව ජුදෙව්වන්ට විශේෂ වන පාස්කු මංගල්‍ය සැමරීමේ දිනය යි. ජේසුස් වහන්සේ තම පියා, මව හා ඥතීන් ද සමග එදින ජෙරුසලම් දේව මාලිගයට ගිය සේක.

ජුදෙව් පාස්කු මංගල්‍යය යනු කිතුනු අප පවත්වන පාස්කු මංගල්‍යය නොවේ. අප පාස්කුව සේ සමරන්නේ, ජේසුස් වහන්සේ මරණයෙන් උත්ථාන වීම යි. ජුදෙව් පාස්කුව වෙනත් අර්ථයක් ගෙන දුන් වැදගත් මංගල්‍යයක් විය.

ජුදෙව් පාස්කුව, ඔවුන්ගේ ඉතිහාසයේ විශේෂ අවසථාවක් මෙනෙහි කරන ආගමික මංගල්‍යයකි. අතීතයේ ඉශ්‍රායෙල් ජනතාව ට මිසර දේශයේ වහලුන් ලෙස ට ජීවත් වීමට සිදු විය. එකල ඔවුන් තම පීඩාවන් ගැන දෙවියන් වහන්සේට කන්නලව් කළ හ. දෙවියන් වහන්සේ මෝසෙස් නම් වූ නායකයකු මගින් ඔවුන් වහල්කමින් මුදවා පොරොන්දු දේශය වූ කානාන් දේශයට ගෙන ගිය සේක. මෙම සිද්ධිය සමරන මංගල්‍යය, පාස්කුව හෙවත් පසුකර යාමේ මංගල්‍යය ලෙස ශුද්ධ බයිබලයේ සඳහන් වෙයි. මෙම ආගමික උත්සවයට සහභාගී වීමට සැම ජුදෙව්වකු ම ඉතා උනන්දු විය. ඔවුහු කණ්ඩායම් වශයෙන් ජෙරුසලමේ දේව මාලිගයට පැමිණුනා හ. මරියතුමිය හා ජෝසෙප්තුමා ද වයස දොළහක් වූ ජේසුස් වහන්සේ සමග ඊට සහභාගි වීමට එහි පැමිණුනා හ.

**එම ගමනේ දී සිදු වූ විශේෂ සිද්ධිය අප දැන් අධ්‍යයනය කරමු.**

එදින පාස්කුව සැමරීමට ජෙරුසලම් දේව මාලිගාවට පැමිණි මරියතුමී, ජෝසෙප්තුමා හා සියල්ලන් උත්සවය අවසන් වූ පසු නිවෙස් බලා පිටත් වූහ. නමුත් එදා ජේසුස් වහන්සේ දේව මාලිගාවේ තවදුරටත් රැඳී සිටිමින් පඬිවරුන් සමඟ සාකච්ඡාවේ යෙදුණු සේක. ඒ බව මරියතුමිය හා ජෝසෙප්තුමා දැන සිටියේ නැත. ඔවුහු නිවෙස් බලා යන අතරතුර දී ජේසුස් වහන්සේ නොමැති බව වැටහී ඥාතීන් අතරේ තම පුතු ව සෙව්වත් සම්බ නොවුණි. ඔවුහු උන්වහන්සේ සොයමින් මහත් දුකින් ජෙරුසලමේ දේව මාලිගාවට නැවත හැරී ආවෝ ය.

ජෙරුසලම් දේව මාලිගාවට පැමිණි විට තම පුත් ජේසුස් වහන්සේ පඬිවරුන් සමග ප්‍රශ්න විචාරමින් ද පිළිතුරු සපයමින් ද සාකච්ඡා

කරමින් සිටිනවා ඔවුහු දුටුහ. එම පඬිවරයන් ජේසු කුමරුගේ බුද්ධි මහිමය ගැන පුදුම වුහ. එසේම ජේසුස් වහන්සේගේ දෙමාපියන් ද ඒ ගැන ඉතා මවිතයට පත් වූහ.



5.2 රූපය - ජේසුස් වහන්සේ මරියතුමිය සමග

එහි දී ජේසුස් වහන්සේ හා මරියතුමිය අතර ඇති වුණ සංවාදය ඉතා වැදගත් ය. මරියතුමිය ජේසුස් වහන්සේ අමතා "පුතා අපට මෙසේ කළේ ඇයි ද"'කියා විමසුවා ය. එයට ජේසුස් වන්සේගේ පිළිතුර වූයේ"ඔබ මා සෙව්වේ මන්ද? මා පියාණන්ගේ මැදුරෙහි සිටිය යුතු බව ඔබ නොදන්නෙහි ද?" යන්න යි.

ඉන් පසු ව ජේසුස් වහන්සේ දෙමව්පියන් සමග නාසරෙත් නුවර බලා ගිය සේක. ජේසුස් වහන්සේ මරියතුමිය හා ජෝසෙප්තුමාට ඉතා කීකරු ව තම ළමා කාලය ගත කළ බව දේව වචනයේ සඳහන් ව තිබේ.

## මෙම සිද්ධියෙන් අප සැමට ලද හැකි ආදර්ශ රැසකි

❖ මරියතුමිය හා ජෝසෙප්තුමා තමන් සොයා ආ විට ජේසුස් වහන්සේ පැවසූ වදන් මහත් එළිදරව් කිරීමක් සිදු කරයි. එනම් "මා පියාණන්ගේ මැදුරේ සිටිය යුතු බව ඔබ නොදන්නෙහි ද?" යන්න යි. ඉන් පැහැදිලි වන්නේ ජේසුස් වහන්සේ තමන්වහන්සේගේ නිත්‍ය නිවස

ජෙරුසලමේ දේවමාලිගාව ලෙස සැලකූ බව යි. එසේ ම එය දෙව්පියාණන් වහන්සේගේ ද ගෘහය යි. දෙවියන් වහන්සේ සමග ජේසුස් වහන්සේගේ තිබෙන සම්බන්ධතාව ඒ තුළින් එළිදරව් කළ සේක. අප ද දෙවියන් වහන්සේ අපගේ දෙව්පියාණන් ලෙස සළකා නිරන්තර සම්බන්ධතාවයකින් යුතු ව ජීවත් විය යුතු වේ.

❖ "දෙමව්පියන්ට කීකරු ව ජේසුස් වහන්සේ නාසරෙත් නුවර ජීවත් වූ සේක." මෙම ගුණාංගය සැම කිතුනු දරුවකුට ම ආදර්ශයක් වෙයි. දෙමව්පියන් සමග අපට තිබෙන සම්බන්ධතා වඩා සවිමත් කර ගනිමින් අපි කිතුනු දරුවන් ලෙස වර්ධනය වෙමු.

❖ ජේසුස් වහන්සේ ප්‍රඥා මහිමයෙන් හා කාය ශක්තියෙන් ද දෙවියන් වහන්සේගෙන් හා මිනිසුන් ගෙන් ප්‍රසාදය ලබමින් වැඩුනු සේක. එයින් අදහස් වන්නේ අප දෙවියන් වහන්සේ සමග මෙන්ම මිනිස් සමාජයේ අන් අය සමග ද යහපත් සබඳතාවක් පවත්වා ගත යුතු බවය.

**කටපාඩම් කරමු.**
**ශු. ලූක් 2 : 51 - 52**

ක්‍රියාකාරකම

1. දොළොස් හැවිරිදි ජේසුතුමා දේව සබඳතාවය වර්ධනය කර ගත් සේ ඔබට ද දේව සබඳතාවය වර්ධනය කර ගත හැකි ආකාර 3 ක් ලියන්න.

2. "මා පියාණන්ගේ ගෘහයෙහි සිටිය යුතු බව" යන ජේසු කුමරාගේ වදන ඔබ තේරුම් ගන්නේ කෙසේ ද?

# 6. අප උදෙසා දිවි පිදූ ජේසුස් වහන්සේ

දෙවියන් වහන්සේ තම ස්වරූපයෙන් ම මවන ලද මුල් මනුෂ්‍යයා උන්වහන්සේට අකීකරු ව පාපය වැලඳ ගත්තේ ය. පැරණි යුදෙව් සමාජය තම පාපයට කමාව ලැබීම උදෙසා අනුගමනය කළ පිළිවෙත වූයේ පාස්කු දින දෙවිඳුන්ට බැටළුවෙකු පූජා කිරීම යි. එම බැටළුවාගේ ලෙය කරණකොට ගෙන ඔව්හු තම පාපයට කමාව අපේක්ෂා කළෝය. නමුත් ජේසුස් වහන්සේ තම ජීවිතය කුරුසිය මත පූජා කිරීමෙන් වගුරන ලද රුධිරය කරණකොට ගෙන මනුෂ්‍යා පාපයෙන් මුදවා ගත් සේක. මෙසේ දෙවියන් වහන්සේගෙන් වෙන් ව ගිය මිනිසාට නැවත දේව සබඳතාවය ගොඩ නැංවීමට මාර්ගය පහදා දුන් සේක. එම පූජා වීම අද අපි අධ්‍යයනය කරමු.

'මහ සිකුරාදා" දිනය සැමරුම වෙනුවෙන් විශේෂ වැඩ සටහනක් පාසලේ ක්‍රිස්තියානි සංගමය විසින් සංවිධානය කර තිබුණි. විශාල ලී කුරුසියක් ශාලාවේ මේසය මත තබා තිබුණි. ක්‍රිස්තියානි ධර්මය විෂය භාර ගුරුතුමියගේ ප්‍රධානත්වයෙන් වැඩ සටහන ආරම්භ විය.

ගුරුතුමිය: අද විශේෂයෙන් විමසා බලන්නට යන්නේ ජේසුස් වහන්සේගේ කුරුසිපත් වීම පිළිබඳව යි. ඒ ගැන ඔබටත් අදහසක් තිබෙනවා නම් ඉදිරිපත් කරන්න.

නයෝමි: අපේ පව් නිසා, ජේසුස් වහන්සේ කුරුසියක් මත ජීවිතය පූජා කළා.

සලෝමි: උන්වහන්සේගේ හිසට කටු ඔටුන්නක් දැමුවා. උන්වහන්සේට කස පහර දුන්නා. අපහාස කළා.

ගුරුතුමිය: ඔව්, ඔබ දෙදෙනාම ප්‍රකාශ කළේ සත්‍යයක්. දෙවියන් වහන්සේ තම ස්වරූපය අනුව මිනිසා මැවූ අතර දේව කැමැත්තට අනුව ඔවුන් ජීවත් වේ යැයි බලාපොරොත්තු වුණා. එහෙත් මිනිසා දේව කැමැත්තට පිටුපා කටයුතු කළා. මෙසේ දෙවියන් වහන්සේගෙන් ඈත් වුණ මිනිසා, නැවත තමන් වෙතට සමීප කර ගන්නට උන්වහන්සේ විවිධ ආකාරයට කටයුතු කළා. අවසානයේ දී තම එකම පුත් ජේසුස් වහන්සේ අප වෙනුවෙන් එවනු

ලැබුවා. අපගේ ගැලවීම උදෙසා කටයුතු කිරීම නිසා උන්වහන්සේට කුරුසිය මත බොහෝ වධ වේදනා විඳ දිවි පිදීමට සිදු වුණා. අප මහ සිකුරාදා දින සිහිපත් කරන්නේ එම දුක්බර සිදුවීම යි. අපි ඒ පිළිබඳ ව දේව වචනය කියවා බලමු.




**ජේසුස් වහන්සේගේ කුරුසිපත් වීම පිළිබඳ විශේෂ අවස්ථා විමසා බලමු.**

ජේසුස් වහන්සේ කුරුසියේ ඇණ ගසනු ලැබුවේ හෙබ්‍රෙව් බසින් ගොල්ගොතා යයි නම් කළ කපාලපිටිය නම් ස්ථානයේ ය. සොරු දෙදෙනෙක්, එක් කෙනෙක් දකුණු පසෙහි ද එක් කෙනෙක් වම් පසෙහි ද උන්වහන්සේ හා සමග කුරුසියේ ඇණ ගසනු ලැබූ හ. උන්වහන්සේට අදාළ ව කුරුසිය මත සටහන් කළ ප්‍රකාශය වූයේ **"ජුදෙව්වන්ගේ රජ"** යන්න ය.

එදා සිදු වූ දේ ලෝක ඉතිහාසය තුළ කිසි දිනක අමතක කළ නොහැකි ඉතා කණගාටුදායක සිදු වීමක්. අපි දැන් එය මතෙව්තුමාගේ ශුභාරංචියට අනුව පිළිවෙළින් අධ්‍යයනය කරමු.



6.1 රූපය - ජේසුස් වහන්සේ කුරුසිය උසුලාගෙන යාම

ජේසුස් වහන්සේ කුරුසිය උසුලාගෙන කපාලපිටිය යන අර්ථය ඇති ගොල්ගොතා ස්ථානයට පැමිණි සේක.



6.2 රූපය - ජේසුස් වහන්සේට කුරුසිය උසුලාගෙන යාමට කිරේනියේ සීමොන් උපකාර කිරීම

ජේසුස් වහන්සේගේ කුරුසිය උසුලාගෙන යාමට කිරේනියේ සීමොන් නම් පුද්ගලයාට බලකරනු ලැබූ අතර ඔහු ජේසුස් වහන්සේගේ කුරුසිය උසුලාගෙන යාමට උපකාරී විය.




6.3 රූපය - ජේසුස් වහන්සේගේ ඇඳුම් දාදු දැමීම

ජේසුස් වහන්සේගේ හිසට ඉහළින් චෝදනා පත්‍රය ලියා තිබුණි. එහි ලියා තිබුණේ "**මොහු ජුදෙව්වන්ගේ රජ ජේසුස්**" යන්නයි. එසේම උන්වහන්සේ කුරුසියේ ඇණ ගැසූ පසු ව කුරුසිය පාමුල දී ම උන්වහන්සේගේ ඇඳුම් දාදු දමා බෙදා ගත් හ.



6.1 රූපය - ජේසුස් වහන්සේ කුරුසිය මත දිවි පිදීම

උන්වහන්සේට දෙපසින් සොරුන් දෙදෙනකු ඇණ ගැසූ අතර එක් සොරෙක් එතුමාණන්ට නින්දා කළේ ය. නායක පූජකයන්, ප්‍රජා මූලිකයන් හා විනයධරයන් ද කුරුසිය පාමුල සිට උන් වහන්සේට කවටකම් කළ හ.

මද්දහනේ සිට අපර භාග තුන දක්වා තද අන්ධකාරයක් පහළ විය. ''ඒලී ඒලී ලාමා සබක්තානි" යයි ජේසුස් වහන්සේ ප්‍රකාශ කළ සේක. (අර්ථය - මාගේ දෙවියනි, මාගේ දෙවියනි ඔබ මා අත්හැරියේ මන්ද) ජේසුස් වහන්සේ මහත් හඬින් හඬ නගා අප වෙනුවෙන් කල්වරියේ දිවි පිදූ සේක.

එදා ජේසුස් වහන්සේ මෙලෙස නින්දා අපහාස මැද ඉතා දුක් විඳ රුදු කුරුසිය මත දිවි පිදුවේ උන්වහන්සේගේ කිසිදු වරදක් නිසා නොවේ. පව්කාර වූ මිනිසා වෙනුවෙන් පෙනී සිටීම නිසා ය. උන්වහන්සේ කුරුසිය මත දී දෙවියන් වහන්සේගෙන් මනුෂ්‍යයාගේ පාපයට කමාව ඉල්ලූ සේක. (ලූක් 3:34) එසේ කළේ දෙවියන් වහන්සේට අකීකරු වී උන්වහන්සේගෙන් ඈත් ව සිටින අපට එම පාපයෙන් ගැලවීම ලබා දීම උදෙසා ය.

**"දේව මාලිගය කඩා දමා**
**එය තුන් දවසකින් ගොඩ නගන ඔබ,**
**ඔබ ම ගලවා ගන්න"**
**ශු. මතෙව් 27:40**

ඉහත වදන් ජේසුස් වහන්සේට අපහාස කරමින් පැවසූ වදන් විය. නමුත් ජේසුස් වහන්සේ පෙර කළ එම වදන් තුළින් ප්‍රකාශ කළේ කුරුසිපත් ව, තෙදිනකින් සිදු වන තමන් වහන්සේගේ උත්ථානය සම්බන්ධ ව ය.

**"මොහු අනුන් ගැළෙව්වේ ය. දැන් තමාට ම ගැළවෙන්ට නුපුළුවන"**
**ශු. මතෙව් 27:42**

ජේසුස් වහන්සේ කුරුසිය මත පූජා වූයේ ජනතාව පාපයෙන් ගළවා ගැනීම උදෙසා ය.

**මොහු ඉශ්‍රායෙල්වරුන්ගේ රජ නොවේ ද?**
**එසේ නම් දැන් කුරුසියෙන් බසීවා.**
**එවිට අපි මොහු විශ්වාස කරන්නෙමු."**
**ශු. මතෙව් 27:42**

හාස්කමක් මගින් කුරුසියෙන් නොබසින්නේ මන්ද යන්න පිළිබඳ ව සලකා බැලීමේ දී අප විශ්වාස කළ යුත්තේ ජේසුස් වහන්සේගේ ජීවිත පරිත්‍යාගය කරණකොට ගෙන ජනතාවට උරුම වන සදාතන ජීවනය ය.

තමන් ව නිර්මාණය කළ දෙවිඳුන්ට අකීකරු ව උන්වහන්සේගේ කැමැත්තට එරෙහි ව මිනිසා බොහෝ විට කටයුතු කරයි. එම ක්‍රියා හේතුකොට ගෙන දෙවියන් වහන්සේ සමග තිබෙන සම්බන්ධතාවයෙන් මිනිසා ඉවත් වෙමින් එය කඩා බිඳ දමයි. ජේසුස් වහන්සේ මෙම බිඳුණු සම්බන්ධතාවය නැවත ගොඩ නගන්නට තම දිවි කල්වරියේ කුරුසිය මත පූජා කළ සේක.

ජේසුස් වහන්සේගේ කුරුසපත් වීම මුළු ලෝකයටම නව බලාපොරොත්තුවක් ලබා දෙන්නකි. මිනිසාට තනිව පාපයෙන් ජය ගත නොහැකි ය. අපගේ පාපය වෙනුවෙන් අප ලැබිය යුතු දඬුවම උන්වහන්සේ විසින් විඳ දරාගෙන අපව ඒ දඬුවමෙන් නිදහස් කළ සේක. මෙලෙස උන්වහන්සේ තම මෙහෙවර සම්පූර්ණ කළ සේක.

එම නිසා අපගේ ගැලවීම උදෙසා උන්වහන්සේගේ දිවි පිදීම ගැන තුති පුදමින්, කුරුසිය පාමුල අපගේ ජීවිතවල වැරදි නිවැරදි කර ගනිමින්, උන්වහන්සේට අයිති දරුවන් මෙන් ක්‍රියා කරමු.

**කටපාඩම් කරමු.**
**යෙසායා 53 : 6**

ක්‍රියාකාරකම

1. ජේසුස් වහන්සේ කුරුසිපත් වීමට අදාළ විශේෂ අවස්ථා පෙළ ගස්වන්න.

# 7. උත්ථානයේ සුපුවත

**දෙවි සැලැස්මට අනුගත වෙමින් අපගේ පාපය වෙනුවෙන් ජේසුස් වහන්සේ බොහෝ වද වේදනා විඳ කුරුසිය මත තම ජීවිතය පූජා කළ ආකාරය පසුගිය පාඩමෙන් අපි විමසා බැලීමු. ජේසුස් වහන්සේ අපගේ ජීවමාන දෙවිඳුන් වන සේක. ඒ උන්වහන්සේ මලවුන් කෙරෙන් උත්ථාන වූ නිසා ය. මෙම පාඩමෙන් අප විමසා බලනු ලබන්නේ ජේසුස් වහන්සේ මලවුන්ගෙන් උත්ථාන වූ සුපුවත යි.**

ජේසුස් වහන්සේ කුරුසි පත් කිරීමෙන් පසු ව එළඹි සබත් දිනය නිම වී සතියේ පළමු වන දා එළිවෙන මොහොතේ කාන්තාවන් සොහොන වෙත ගියෝ ය. එසේ ගියේ එකළ පැවති සිරිතට අනුව උන්වහන්සේගේ මෘත ශරීරය සුවඳ ද්‍රව්‍යයෙන් ආලේප කිරීමට ය. නමුත් එම ස්ථානයට ගිය මොහොතේ සිදු වූයේ ඔවුන් කිසිසේත් බලාපොරොත්තු නොවූවකි.

මග්දලායේ මරියා: මේ මොකද වෙන්නේ ?. . . . මට නම් මහ බයක් දැනෙනවා.

මරියා: භූමි කම්පාවක් වගෙයි. ආ . . . අර දේව දූතයෙක් නේද සොහොන් ගෙය මත තිබූ ගල ඉවතට පෙරලා ඒ මත ඉඳගත්තේ ?

මග්දලායේ මරියා: මට නම් කිසි දෙයක් පේන්නේ නැහැ. ලොකු ආලෝකයකින් මගේ ඇස් වැහිලා වගෙයි.

මරියා: මට නම් පේන්නේ දේව දූතයෙක් වගෙයි. ඔහුගේ පෙනීම විදුලියක් වගෙයි. වස්ත්‍ර හිම මෙන් සුදු පාටයි.

මග්දලායේ මරියා: අර බලන්න . . . අපි වගේ ම රැකවල් කරන අයත් බයේ ඉන්නවා.

දේවදූතයා: "බය නොවන්න" මක්නිසාද කුරුසියේ ඇණ ගසන ලද ජේසුස් වහන්සේ ඔබ සොයන බව මම දනිමි. උන්වහන්සේ මෙහි නැත. උන්වහන්සේ කී ලෙස ම නැගිටුණු සේක. එන්න . . . . උන්වහන්සේ තැන්පත් කල ස්ථානය දෙස බලන්න.

මග්දලායේ මරියා: මොනවා? උන්වහන්සේ මෙහි නැහැ? උන්වහන්සේ නැවත නැගිට්ටා ?

දේව දූතයා: ඔව්, උන්වහන්සේ පෙර වදාළ ලෙස ම නැවත නැගිටුණු සේක. ඔබ දැන්ම ගොස් මෙම සුපුවත ශ්‍රාවකයන්ට දැනුම් දෙන්න. උන්වහන්සේ නුඹලාට පළමුවෙන් ගලීලයට යන සේක. එහි දී නුඹලා උන්වහන්සේ දකින්නාහු ය.

මග්දලායේ මරියා: අපි ඉක්මණින් යමු. ගොස් මේ ශුභාරංචිය ශ්‍රාවකයන්ට කියමු.

මරියා: ඔව් . . ඔව්... මට නම් මේක මහා පුදුම අත්දැකීමක්. අපි ඇසූ දුටු දේ ශ්‍රාවකයන්ට කියමු.

මෙම සිදුවීම අත්දුටු කාන්තාවෝ මහත් බියෙන් හා ප්‍රීතියෙන් උන්වහන්සේගේ උත්ථානයේ ජයග්‍රාහී සුපුවත දන්වන පිණිස ශ්‍රාවකයන් වෙත දිව්වෝ ය. ඒ යන අතරතුර;

ජේසුස් වහන්සේ: "සුභ සිද්ධ වේවා!

කාන්තාවන් : දෙදෙනා මොනවා මේ අපේ ජේසුස් වහන්සේ නේද? හරි පුදුමයි.

මග්දලායේ මරියා: එන්න . . එන්න . . . අපි උන්වහන්සේට නමස්කාර කරමු.

ජේසුස් වහන්සේ: බය නොවන්න. මාගේ සහෝදරයන් ළඟට ගොස් ඔවුන්ට ගලීලයට පිටත් ව යන්න කියන්න. එහි දී ඔවුන් මා දකිනවා ඇත.




ජේසුස් වහන්සේගේ කුරුසි පත්වීම නිසා සියළු බලාපොරොත්තු සුන් ව අධෛර්යයට පත් ව දුක් මුසු ව සිටි සැමගේ ජීවිතවලට උන්වහන්සේ මළවුන්ගෙන් උත්ථානය වීම නව බලාපොරොත්තුවේ සුපුවතක් විය.

මුලින්ම එම ජයග්‍රාහී සාක්ෂිය සියැසින් ම දුටු කාන්තාවෝ එම පුනරුජ්ජීවනයේ සුපුවත දේව දූතයා පැවසූ ලෙස ම ශ්‍රාවකයන් වෙත ගෙන ගියෝ ය.

ජේසුස් වහන්සේගේ පුනරුජ්ජීවනය අත්දුටු කාන්තාවන් ජයග්‍රාහී සුපුවතෙහි මුල් ම සාක්ෂිකරුවන් විය.

**මෙලෙස ස්ත්‍රීන් විසින් දන්වන ලද
ජේසුස් වහන්සේගේ පුනරුජ්ජීවනය පිළිබඳ සුපුවත තුළින්
ශ්‍රාවකයන්ගේ ජීවිත ආලෝකවත් විය.**

**ඒ කෙසේද ?**

ජුදෙව් ජනතාව, රෝම අධිරාජ්‍යයේ පීඩනයට මෙන්ම වරප්‍රසාද ලත් පරිසි සද්දුසි, විනයධර වැනි තමන්ගේ ම ජුදෙව් ප්‍රභූවරුන්ගේ ආධිපත්‍යය යටතේ ද බොහෝ සේ පීඩාවට පත් ව සිටිය හ. මෙම පීඩාවලින් ඔවුන් මුදවා ගැනීම සඳහා පෙර දිවැසිවරු පැවසූ ලෙස ගැළවුම්කරුවකු හෙවත් මෙසියස් වහන්සේගේ ලොව පහළ වීම පිළිබඳ අපේක්ෂාවෙන් ඔවුහු බලා සිටිය හ.

මේ අනුව ජේසුස් වහන්සේ වනාහි තමන් මුදවා ගැනීමට පැමිණි මෙසියස් වහන්සේ ලෙස ඔවුහු විශ්වාස කළෝ ය. ඒ බව ජේසුස් වහන්සේ තේජශ්‍රීයෙන් ජෙරුසලම් දේව මාලිගාව වෙත යාමේ සිද්ධියේ දී ජනතාව ක්‍රියා කළ ආකාරයෙන් මනාව පැහැදිලි වේ.

නමුත් ජුදෙව් ජනතාව බලාපොරොත්තු නොවූ ලෙස ජේසුස් වහන්සේ මිහි පිට තම මෙහෙවර නිමකොට බොහෝ දුක් වේදනා විඳ කුරුසියේ තම ජීවිතය පූජා කළ සේක. මෙම සිදුවීම් ජේසුස් වහන්සේ ගේ ශ්‍රාවකයන් මෙන් ම ජුදෙව් ජනතාවගේ ද සියළු බලාපොරොත්තු බිඳ වැටීමටත් කණස්සල්ලටත් හේතු විය.

නමුත් සොහොන් ගෙය වෙත ගිය කාන්තාවන් ලද සුපුවත වූයේ,"**ජේසුස් වහන්සේ සැබවින් ම උත්ථාන වූ සේක**"යන්න ය. මෙම පුවත ශ්‍රාවකයන්ගේ ජීවිතවලට මහත් ප්‍රීතියක්, නව පන්නරයක්, නව බලාපොරොත්තු මෙන් ම නව ආලෝකයක් ඇති කරවන්නක් විය. එයින් ශ්‍රාවක පිරිසගේ ජීවිත ප්‍රබෝධමත් විය.

**එදා**

**ශ්‍රාවකයන්,**

**ස්ත්‍රීන් විසින් පවසන ලද<br>"ජේසුස් වහන්සේගේ පුනරුජ්ජීවනය"<br>පිළිබඳ ජයග්‍රාහී සුපුවත ලැබීමෙන් පසු ක්‍රියා<br>කළේ කෙසේ ද?**

ජේසුස් වහන්සේගේ කුරුසි පත් වීමෙන් පසු ශ්‍රාවකයන් පෙර හුරු පුරුදු ජීවන රටාව වෙත යොමු වීමට පියවර ගත්හ. එහෙත් උත්ථානයේ පණිවුඩයත් සමග ශ්‍රාවකයන් නැවත ජේසුස් වහන්සේගේ "**ජීවමාන හඬ**" බවට පත්විය. ජේසුස් වහන්සේ සමග එකට ජීවත් වීමෙන් ඔවුන් අත්දුටු උන්වහන්සේගේ මහත් කැපවීමේ හා වැයවීමේ ජීවිතය ආදර්ශයට ගෙන ක්‍රියා කරන්නට උත්සුක විය. "ජේසුස් වහන්සේගේ පුනරුජ්ජීවනය තුළින් අපට උරුම වන සදාතන ජීවිතය" පිළිබඳ සාක්ෂි දැරීමට ශ්‍රාවකයන් දිරිමත් විය. එඩිතර විය. ඒ වෙනුවෙන් තම ජීවිත පරදුවට තැබීමට වුව ද ඔවුහු පසුබට නොවූ හ.

**අද**

**අපට ද**

**ජේසුස් වහන්සේගේ පුනරුජ්ජීවනය<br>තුළින් නව බලාපොරොත්තුවක්<br>ලැබී ඇත.**

**එනම්**

**ජේසුස් වහන්සේ අප වෙනුවෙන් සිදු කළා වූ ජීවිත පූජාව කරණකොට ගෙන අපගේ පාපයට කමාව ලබාගත හැකි ය.**

**ජේසුස් වහන්සේගේ උත්ථානය තුළින් සදාකාල ජීවනයේ මාර්ගයට උරුමය අපට ලබා ගත හැකි ය.**

දෙව් දූතුන් මගින් ගෙනෙන ලද
ජේසුස් වහන්සේගේ පුනරුජ්ජීවනයේ සුපුවත
මුලින්ම ලද්දේ ස්ත්‍රීන් විසිනි.
ඔවුහු එම ජයග්‍රාහී පණිවුඩය ශ්‍රාවකයන් වෙත ගෙන ගිය හ.
එවිට
ශ්‍රාවකයන් ජේසුස් වහන්සේගේ හඬ බවට පත් වී
ජේසුස් වහන්සේගේ පුනරුජ්ජීවනයේ සුපුවතේ හි
සාක්ෂි කරුවන් බවට පත් වීම නිසා
අද අප එම බලාපොරොත්තුව තුළ ජීවත් වන
කිතුනුවන් බවට පත් ව සිටින්නාහු ය.
ඒ අනුව
එදා පුනරුජ්ජීවනය පිළිබඳ සුපුවත ගෙන ආ
කාන්තාවන් හා ශ්‍රාවකයන් කළ පරිදි අප ද
කිතුනු සුභාරංචිය හෙවත්
ජේසුස් වහන්සේගේ පුනරුජ්ජීවනයේ සත්‍ය සුපුවත
අන් අය වෙත ගෙන යා යුතු ව ඇත.

ජේසුස්වහන්සේගේ නැවත නැගිටීමේ ජයග්‍රාහී සුපුවතට සාක්ෂි දැරීමට ඔබගේ ජීවිත කෙසේ විය යුතු ද?

**කියවා බලමු**
ශු. ලූක් 10:27
ශු. ජොහාන් 13:34
ශු. ජොහාන් 13:35
ශු. මතෙව් 5:14

**කටපාඩම් කරමු.**
ශු. මතෙව් 28: 19

ක්‍රියාකාරකම

1. සොහොන වෙත ගිය කාන්තාවන්ට නැවත නැගිටි ජේසුස් වහන්සේ පිළිබඳ ව ලද සුපුවත කුමක් ද?

2. ජේසුස් වහන්සේගේ පුනරුජ්ජීවනය තුළින් අපට ලැබී ඇති විශේෂ වරප්‍රසාදය ලියන්න.

# 8. උත්ථානයට සාක්ෂිකරුවෝ

**අපට ඇති අසීමිත ප්‍රේමය හේතුකොට ගෙන අපගේ පාපය උදෙසා තම දිවිපිදූ ජේසුස් වහන්සේ, මරණය පරාජය කොට තෙදිනකින් නැවත නැගිටුනු සේක. කිතුනු අප එම දිනය 'පාස්කු' ලෙස සමරමු. පාස්කුව කිතුනු අපට ජයග්‍රාහී දිනයකි.**

ජේසුස් වහන්සේගේ නැවත නැගිටීම අත්දුටු ශ්‍රාවක පිරිස හා කාන්තාවන් ඒ පිළිබඳ ව නිර්භය ව සාක්ෂි දැරූහ. ඒ පිළිබඳ ව දේව වචනයේ මෙසේ සඳහන් වේ.

**කියවා බලමු**

**ශු. ලුක් 24:1-12**



මග්දලාවේ මරියා, ජෝවන්නා ජාකොබ්ගේ මව වූ මරියා යන ස්ත්‍රීන් ඇසූ සුබ ආරංචිය ජේසුස් වහන්සේගේ ශ්‍රාවක පිරිසට පැවසූ කල ඔවුන්ට එය අදහා ගත නොහැකි විය. ජේසුස් වහන්සේගේ ප්‍රධානතම ශ්‍රාවකයා වූ පේදුරුතුමා සොහොන් ගෙය ලඟට දිවගොස් නැමී බලා හණ රෙදි පමණක් තිබෙනු දැක සිදු වූ කාරණා ගැන පුදුමයට පත් විය. හිස් වූ සොහොන් ගෙය දැකීමෙන් පේදුරු තුමාගේ විශ්වාසය ගොඩනැගුණි.



8:1 රූපය - ජේසුස් වහන්සේ කාන්තාවන්ට දර්ශනය වීම

කාන්තාවන්ට, පේදුරුතුමාට මෙන් ම එම්මාවුස් ගමට ගිය ගෝලයන්ට ද උන්වහන්සේ දර්ශනය වූ සේක.

# එම්මාවුස් ගමන



**කියවා බලමු**
**ශු. ලූක් 24: 13-40**



8:2 රූපය - එම්මාවුස් ගමන

එම්මාවුස් ගමන පිළිබඳ ව පහත සඳහන් බයිබල් පාඨ කියවා බලා, එහි සඳහන් සිදු වීම දෙබසක් ලෙස තම අභ්‍යාස පොතේ සටහන් කරන්න.

**ශු. ලූක් 24: 17 → ශු. ලූක් 24:18**
**ශු. ලූක් 24: 19 → ශු. ලූක් 24: 20-24**
**ශු. ලූක් 24: 25-27 → ශු. ලූක් 24: 28-29**

මෙහි දී එම්මාවුස් ගමට ගිය ක්ලෙයෝපස් හා තවත් ශ්‍රාවකයකු සමග ජේසුස් වහන්සේ වැඩිය නමුත් ඔවුහු උන්වහන්සේ හඳුනා නොගත්හ. වියවුල් ව සිටි ශ්‍රාවකයන්ට තමන් වහන්සේ පිළිබඳ සඳහන් ශුද්ධ ලියවිලි මෙම ගමනේ දී උන්වහන්සේ පැහැදිලි කළ සේක. මෝසෙස් තුමාගේ කාලයේ පටන් සියළු අනාගත වාක්‍ය උන්වහන්සේ තෝරා දුන් සේක . එම ඉගැන්වීම් ඇසීමෙන් ඔවුන්ගේ සිත් දැවී ගිය නමුත් උත්ථාන වූ ජේසුස් වහන්සේ බව ඔවුන් හඳුනා ගත්තේ නැත. නමුත් ජේසුස් වහන්සේ ඔවුන් සමග කෑමට හිඳ රොටී රැගෙන ආශිර්වාද කොට කඩා දුන් සේක. ඒ අවස්ථාවේ දී ඔවුන්ගේ සිත් පැහැදී අඳුරු සේයාව පහ වී ජේසුස් වහන්සේ හඳුනා ගත්තෝ ය. ජේසුස් වහන්සේ "අවසාන රාත්‍රී භෝජනය" අවස්ථාවේ දී රොටී සහ මිදියුෂ ඔවුන් අතර බෙදා දුන් පිළිවෙළ හා එදින පැවසූ දේ මතකයට නැගෙන්නට ඇත.

ශ්‍රාවකයන් දෙදෙනා එම පැයේදී ම ජෙරුසලමට හැරී ආවේ ස්වාමින් වහන්සේ සැබවින් ම උත්ථානය වූ බවට ප්‍රබල සාක්ෂියක් ඇතිව ය.

තව ද ශ්‍රාවක පිරිස කතා කරමින් සිටිය දී ජේසුස් වහන්සේ ශ්‍රාවකයන් එකොළොස් දෙනා මැදට පැමිණ "නුඹලාට සමාදානය වේවා"යි වදාළ සේක. උන්වහන්සේ ඔවුන් ඉදිරියේ ප්‍රකාශ වූ මොහොතේ ශ්‍රාවකයන් එක් එක්කෙනාගේ සිත් නොසන්සුන් විය. මන්ද සමහර ශ්‍රාවකයන් උන්වහන්සේගේ උත්ථානය පිළිබඳ විශ්වාස කිරීමට ලකුණු සෙවූ අවස්ථා ද තිබූ බැවිනි. නමුත් ජේසුස් වහන්සේ ඔවුන් ඉදිරියේ තම අත් පා පෙන්වමින් ඒ නිසැක ව ම තමන්වහන්සේ බව ප්‍රකාශ කළ සේක.

**ඔබගේ සිත පරීක්ෂා කර බලන්න.**
**ජීවත් වන තැනැන්වහන්සේ මළවුන් අතර සොයන්නේ මන්ද?**

❖ ජේසුස් වහන්සේ ශ්‍රාවකයන්ට තම අත් පා ස්පර්ශ කොට විශ්වාස කරන ලෙස ආරාධනා කළ සේක.

ඔබත්

**එසේ ඇදහිල්ල මදිකම නිසා බොහෝ දේ විමසා බලා පමණක් විශ්වාස කිරීමට පෙළඹී ඇත් ද? පීඩා කරදර ඉදිරියේ හාස්කම් ලකුණු සොයමින් පමණක් වෙහෙස වන්නේ ද?**

❖ එම්මාවුස් ගමට ගිය ශ්‍රාවකයන්ට ජේසුස් වහන්සේ තමන් පිළිබඳ

ඔබත්

**එසේ දේව වචනය කියවන නමුත් දේව පණිවුඩයට සවන් දෙන නමුත්, එය අවබෝධ කර ගැනීමටත් ඒ අනුව තම ජීවිත හැඩ ගස්වා ගැනීමටත් වෙහෙස වන්නේ ද?**

❖ ජේසුස් වහන්සේගේ දුක් විඳීම, මරණය හා නැවත නැගිටීම පිළිබඳ ව උන්වහන්සේ ඊට පෙර තම ශ්‍රාවකයන්ට පැවසූ සියල්ල අමතක කොට ක්‍රියා කළ හ.

ඔබත්

**එසේ දේව වචනයේ සඳහන් සත්‍යය අමතක කොට ක්‍රියා කරන්නේ ද?**

**ඔබගේ එම වැරදි වැටහීම්, සිතුම්,පැතුම්, ක්‍රියාවන් වෙනස්කර ගැනීමට කාලය උදා වී ඇත.**

**ඔබටත් අවස්ථාවක් උදාවී ඇත.**

**එදා ජේසුස් වහන්සේ ම කැළඹී සිටි ශ්‍රාවකයන්ට ශාන්තිය ලබා දුන්නා සේ ම උන්වහන්සේ අනුගමනය කරන අපට ද සැනසුම, සහනය, සාමය ලබා දෙන සේක.**

❖ ජේසුස් වහන්සේගේ උත්ථානය පිළිබඳ නොදැක විශ්වාස කරන ඔබ භාග්‍යවන්ත බව ජේසුස් වහන්සේ ම වදාළ සේක. අපගේ දුර්වලකම් හා නොවටිනාකම් ඉවසා උන්වහන්සේගේ සමීපත්වය අපට අත් දකින්නට සලස්වන සේක.

❖ ජේසුස් වහන්සේගේ පුනරුජ්ජීවනය තුළින් අපට හිමිවන සදාකාල ජීවනයට උරුමය හිමි කර දෙන සේක.

❖ භාග්‍යවන්ත අප උන්වහන්සේගේ උත්ථානයට සාක්ෂි දැරීමට පළමුව අප තුළ ඇදහිල්ල වර්ධනය කර ගනිමු. තම ජීවිතයේ සියළු ගැටළු ඉදිරියේ ලකුණු හා හාස්කම් නොසොයා ජේසුස් වහන්සේ කෙරෙහි පමණක් ඇදහිල්ල වර්ධනය කර ගනිමු.

❖ ජීවිතයේ සෑම තීරණයක දී ම දේව කැමැත්ත කුමක් දැ යි විමසා බලමු. උන්වහන්සේගේ ඉගැන්වීම් මතකයට නංවමින් ඒ අනුව ක්‍රියාකාරී වෙමු.

❖ එසේ ක්‍රියා කිරීමට යාමේ දී අපට මුහුණ පෑමට සිදු වන දුෂ්කරතා ඉවසා දරා ගනිමින් ජේසුස් වහන්සේ ඉදිරියේ ප්‍රසන්න දේ පමණක් ඉටු කරමු.

❖ ජේසුස් වහන්සේ ඉදිරියෙහි ප්‍රසන්න ලෙස අපගේ ජීවිත හසුරුවා ගැනීමට, අපගේ හදවත් උන්වහන්සේට විවෘත කරමු.

**ඇදහිල්ල වර්ධනය කර ගනිමින් සාක්ෂිකරුවන් වෙමු.**

**කටපාඩම් කරමු.**
**1 තිමෝති 2 : 6**

ක්‍රියාකාරකම

1. ජේසුස් වහන්සේගේ උත්ථානයේ සාක්ෂි දැරීමට කිතුනු ඔබගේ ජීවිත පැවැත්ම කෙසේ විය යුතු දැ යි පහදන්න.

2. ජේසුස් වහන්සේ ගේ පුනරුජ්ජීවනයේ ආලෝකයේ පණිවිඩය ගෙන ආ කාන්තාවන් හා ශ්‍රාවකයන් කළ පරිදි, අප ද කිතුනු ශුභාරංචිය හෙවත් ආලෝකයේ සත්‍ය පණිවිඩය අන් අය වෙත ගෙන ආ යුතු ය.
කිතුනු ශුභාරංචිය අන් අය වෙත ගෙනයාම සඳහා ඔබට ගත හැකි ක්‍රියා මාර්ග 3 ක් ලියන්න.

# 9. සදාකාල ජීවිතය

**ජේසුස් වහන්සේ බොහෝ වද වේදනා විඳ කුරුසිපත් වූ ආකාරයත් උන්වහන්සේ තෙදිනකින් උත්ථාන වූ බවත් ඒ පිළිබඳ ව බොහෝ දෙනා සාක්ෂි දැරූ බවත් අපි පෙර පාඩම් වලින් ඉගෙන ගතිමු.**

**උන්වහන්සේගේ උත්ථාන වීම කරණකොටගෙන අපට හිමිවන සදාකාල ජීවිතය පිළිබඳවත් ඒ සඳහා ක්‍රියා කළ යුතු ආකාරය පිළිබඳවත් මෙම පාඩමෙන් හඳුනා ගැනීමට අපේක්ෂිත ය.**

ඉරිදා දේව මෙහෙය අවසන් වූ පසු ඉතා සතුටින් දෙමාපියන් සමග නිවසට පැමිණි අනගි, ප්‍රගීත් හා දිලිනිගේ සිත් තවත් සතුටට පත් වූයේ ආච්චි හා සීයා තම නිවසට පැමිණ සිටිනු දැකීමෙනි. ආච්චි හා සීයා සමග දොඩමළු වෙමින්, විනෝද වෙමින් කාලය ගත කළ දරුවන් එළිමහනට ගියේ වෙනදා මෙන් සීයාගේ රසවත් කතා ඇසීමට ය.

දිලිනි: සීයේ, මට අද කියලා දෙන්න 'පාපය' කියන්නේ මොකක්ද කියලා.

සීයා: 'පාපය' කියන්නේ අප දෙවියන් වහන්සේගේ කැමැත්තට පිටුපා ක්‍රියා කිරීම යි. එවිට සිදුවන්නේ අප හා දෙවියන් වහන්සේ අතර පවතින දේව සබඳතාවය දුරස් වීම යි.

ප්‍රගීත්: දේව සබඳතාවය පවත්වා ගැනීමට අවශ්‍ය මග පෙන්වීම ශුද්ධ බයිබලයේ සඳහන් වෙනවා නේද සීයේ ?

සීයා: ඔව් පුතා. අප දෙවියන් වහන්සේට කීකරු ව ජීවත් විය යුතු යි. දේව අණ පනත් ඉටු කළ යුතු යි. උන්වහන්සේගේ කැමැත්ත ඉටු කළ යුතු යි. ඒ සියල්ල පිළිබඳ ව ශුද්ධ බයිබලය තුළින් අපට මග පෙන්වීම ලබා දෙනවා. අප දිනපතා දේව වචනය කියැවීමෙන් අපට පුළුවන් දේව කැමැත්ත නිවැරදි ව හඳුනා ගන්නට.

දිලිනි: ඇයි සීයේ අපගේ පාපය උදෙසා ජේසුස් වහන්සේ තම දිවි පිදුවා කියන්නේ ?

සීයා: ඉස්සර කාලයේ ජුදෙව් ජනතාව දෙවියන් වහන්සේට අකීකරු ව දේව අණ පනත් කඩ කරමින් පාපයට යොමු වූ විට එම පාපයෙන් නිදහස් වීමටත්, නැවත දේව සබඳතාවය ඇති කර ගැනීමටත් දෙවිඳුන්ට පූජාවන් ඔප්පු කළා. විශේෂයෙන් ම ඒ සඳහා බැටළු පැටියකු පූජා කිරීම ඔවුන්ගේ සිරිතක් වුණා. පූජා කල බැටළුවාගේ රුධිරය කරණකොට ගෙන තම පව් සෝදා හරින බවයි ඔවුන්ගේ විශ්වාසය වූයේ.

එහෙත් ජේසුස් වහන්සේ අපට ඇති ආදරය නිසා මිනිසා හා දෙවියන් වහන්සේ අතර බිඳුන සබඳතාව නැවත ගොඩ නැගීමටත් පාපයට කමාව හිමිකර දීමටත් දිවි දුන් බැටළු පෝතකයා බවට පත් වුණා. මෙලෙස ජේසුස් වහන්සේ කුරුසිය මත තම රුධිරය වගුරා සිදු කළේ අප සැමගේ පව් උදෙසා තම දිවි පුදා ඒ ලේ කරණකොට ගෙන අපගේ පව් සෝදා හැරීම යි. අපගේ පාපයට කමාව හිමි කර දීමයි. ඒ සියල්ල කරණකොට ගෙන පාපය නිසා දුබල වූ දේව සබඳතාවය නැවත ශක්තිමත් කිරීම යි.

ප්‍රගීත්: අද අප පල්ලියේ දේශනයෙන් ඉගෙන ගත්තේ ජේසුස් වහන්සේ අප උදෙසා දිවි පිදීම තුළින් පාපයේ වහල් බැම්මෙන් මිදී අපට ගැලවීමක් ලැබුණා කියලා. ඇත්තටම මට දැනුයි හරියටම තේරුණේ ජේසුස් වහන්සේ අප වෙනුවෙන් පීඩා වින්දේ රුධිරය වැගිරෙව්වේ ඇයි කියලා.

අනගි: ජේසුස් වහන්සේගේ දිවි පිදීම කරණකොට ගෙන අපගේ පාපයට කමාව ලැබුණා වගේ ම උන්වහන්සේගෙන් සදාතන ජීවනය උරුම වෙනවා කියලත් පල්ලියේ දේශනයේ දී කියවුණා. ඒක ඇත්ත ද සීයේ ?

සීයා: ඔව් දුව. කිතුනු අප පාස්කුව කියන්නේ ජේසුස් වහන්සේ මරණින් උත්ථාන වූ දවසට. ඒ දවස අපට ඉතා වැදගත්. ජේසුස් වහන්සේ මරණින් උත්ථාන වීම කරණකොට ගෙන අපට සදාකාල ජීවනයට ඇතුලුවීමේ මාර්ගය විවෘත කර දුන්නා.

දිලිනි: සදාතන ජීවිතය උරුම කර ගැනීමට අප කළ යුතු දේ ජේසුස් වහන්සේ අපට උගන්වා තිබෙනවා නේද සීයේ ?

සීයා: ඔව් දුව. ශුද්ධ ලියවිල්ලේ ඒ බව සඳහන් වෙනවා. ජේසුස් වහන්සේ පැවසුවේ "යමෙක් නැවත නූපන්නොත් ඔහුට දෙවියන් වහන්සේගේ රාජ්‍යය දැකගත නොහැකි'' බව යි. ඒ බව ජොහාන් සුභාරංචියේ 3:3 සඳහන් වෙනවා. ඉන් අදහස් කරන්නේ අප අපගේ වැරදි නිවැරදි කරගෙන, පව්වලින් මිදී අළුත් ජීවිතයකට හුරු විය යුතු බව යි.

ප්‍රගීත්: සීයේ...සදාකාල ජීවිතය උරුම කර ගැනීමට ජේසුස් වහන්සේ අනුව ගමන් කළ යුතු යි නේද?

සීයා: ඔව් පුතා. ජේසුස් වහන්සේ පැවසුවේ ඔබ සතු සියල්ල විකුණා දිළිඳුන්ට දන් දෙන්න. එවිට ස්වර්ගයේ ඔබට සම්පත් ඇති වන්නේ ය. එන්න, මා අනුගාමී වන්න කියලා. ඒ බව ලූක් සුභාරංචියේ 18 වන පරිච්ඡේදයේ 18 සිට 23 දක්වා කොටසින් අපට උගන්වනවා. ඉන් අදහස් කළේ අප සතු සම්පත් අපගේ පමණක් නොව අන් අයගේ ද යහපත උදෙසා කැප කළ යුතු බව යි. යමෙකුට උදව්වක් කරන්න සැම විට ම සිත යොමු කළ යුතු බව යි. එම උදව්ව දැනුමෙන්, හැකියාවෙන්, ශක්තියෙන්, කාලය දීමෙන් විය හැකියි. ඒ වගේම යහපත්, ආදරණීය ලෙන්ගතු වචනයෙන් පවා තවත් කෙනෙකුට සහනයක් වන්නට පුළුවන්. ජේසුස් වහන්සේ අසරණ ජනතාවට උදව් කළේ උන්වහන්සේගේ ආදරය, පිළිගැනීම, කාරුණික වචන, නිවැරදි ව තේරුම් ගැනීම වැනි දේ තුළින්. විශේෂයෙන් දරුවන් , රෝගීන්, වැන්දඹුවන් පව්කරුවන් ලෙස සමාජයෙන් ප්‍රතික්ෂේප කළ අය කෙරෙහි ජේසුස් වහන්සේ දැක් වූ සැලකිල්ල ආදර්ශයට ගෙන අපටත් හැකි යි කිතුනු අනුගාමිකයකු වන්නට. එසේ අනුගාමී වීමෙන් ජේසුස් වහන්සේ සමග සදාතන ජීවිතයට ඇතුළු වන්නට.

## සිතා බලමු

**ජේසුස් වහන්සේ කැපවුණේ, තම දිවි පූජා කළේ අපගේ පාපය වෙනුවෙනි.**

**ඒ නිසා අපගේ ජීවිත නිවැරදි කරගෙන පාපයෙන් මිදී ජීවත් වීම කිතුනු අපගේ වගකීම වේ.**

**අප සැම විටම අන් අයට උදව් කිරීමට සූදානම් ව සිටිය යුතු වේ.**

**අප සතු සම්පත් පමණක් නොව අපගේ හැකියා ද කාලය මෙන්ම ප්‍රිය වචනයන් ද අපට අන් අය සමග බෙදා ගත හැකි දේවල් වේ.**

**කිතුනුවන් වන අපගේ ඒකායන පැතුම වන සදාකාල ජීවනයට පංගුකාරයන් වීමට අපි ද ජේසුස් වහන්සේගේ අනුගාමිකයෙක් වීමට කැප වෙමු.**

**කටපාඩම් කරමු.**
**රෝම 12 : 2**

ක්‍රියාකාරකම

1. කිතුනුවන්ට ඇති විශේෂිත ම බලාපොරොත්තුව හිමි කර ගැනීමට ඔබගේ ජීවිත තුළ තිබිය යුතු යහපත් ගුණාංග 5ක් නම් කරන්න.

2. ඔබගේ පාපයට කමාව අයදිමින් කෙටි යැදුමක් ලියන්න.

# 10. ජේසුස් වහන්සේගේ බෞතිස්මය

ජුදයේ බෙත්ලෙහෙම් නුවර උපත ලත් ජේසු බිළිඳු ඇති දැඩි වූයේ ගලීලයේ නාසරෙත් නුවර ය. ජේසු කුමරාට අවුරුදු දොළහ සම්පූර්ණ වනතෙක් ජුදෙව් ආගමික පිළිවෙත්වලට අනුකූල ව දේව ගරුබිය ඇතිව, සිය මව්පියන්ගේ සෙවණෙහි හැදුණු වැඩුණු බව සඳහන් වේ

ජේසුස් වහන්සේගේ වයස අවුරුදු තිහ සම්පූර්ණ වූ විට, තමන්වහන්සේට නියම වූ මෙහෙවරට සූදානම් වීම සඳහා, නාසරෙත් නුවරින් පිටත් වී, ජුදයේ ජෝර්දාන් ගංතෙර කරා සේන්දු වූ සේක.

**කියවා බලමු**

**ශු. මාක් 1:9-11**



## ජෝර්දාන් ගංතෙර හි සිදු වූයේ කුමක් ද?

එදින මහා ජනකායක් ජෝර්දාන් ගංතෙර හි පෙළ ගැසී සිටිය හ. ජොහාන් නම් ලත් පුද්ගලයකු මේ ජනතාව අතර සුවිශේෂ කාර්යයක යෙදී සිටියේ ය. මොහු එලිසබෙත් හා පූජක සෙකරියස්ගේ පුත්‍රයා ය. ජොහාන් මෙහි දී දෙවියන් වහන්සේ ඔහුට භාර දුන් කාර්යය සිදු කරමින් සිටියේ ය.

ඔහුගේ කාර්යය වූයේ ජේසුස් වහන්සේ පිළිගෙන, අදහා ගැනීමට ජනතාවගේ හදවත් සූදානම් කිරීම ය. ඒ සඳහා ජොහාන්තුමා ජනතාවගේ අයහපත් ගති පැවතුම් පෙන්වා දෙමින් ඒවා වෙනස් කරගෙන, නව ජීවිත පැවැත්මකට ඇතුලු වීමට ඉතා ප්‍රබල ලෙස අනුශාසනා කළේ ය.

එයට කීකරු වූ ජනතාව **නව උපතක ජීවිතය,** සංකේතවත් කරමින් ජොර්දාන් ගංගාවෙහි ගිල්වීමෙන් බෞතිස්මය ලැබූහ. ජොහාන් තුමා අතින් සිදු වූ මෙම පිළිවෙත බෞතීස්මය ස්නාපනය ලෙස හැඳින්වෙයි. තමා කළ සේවය අනුව එතුමාට "ස්නාවක ජොහාන්" යන නාමය ව්‍යවහාර විය. ජොහාන්තුමා දුන් මෙම බෞතීස්මයෙන් අවධාරණය වනුයේ පසුතැවිල්ලෙන් නව ජීවිතයකට පා තැබීම යි.



10:1 රූපය
ස්නාවක ජොහාන්තුමා ජනතාවට අනුශාසනා කරමින්

ජුදෙව් සමාජයේ සමහර ජනකොටස් තුළ යහපත් දිවි පැවැත්ම තුරන් වී තිබුණු වකවානුවක, ජොහාන්තුමා මොර ගසමින් දුන් ආරාධනයට යහපත් ප්‍රතිචාර ලැබුණි.

මෙම ජොර්දාන් ගංතෙර කරා පැමිණි ජේසුස් වහන්සේ ද එකතු වූයේ පසුතැවී බෞතීස්මය ලබමින් සිටි ජන කොටසකට ය. මෙමගින් ජේසුස් වහන්සේ ස්නාවක ජොහාන්තුමා තමාගේ සේවය වෙනුවෙන් ගත් පියවර අගය කළ සේක.

ජේසුස් වහන්සේ ස්නාවක ජොහාන් තුමා අතින් බෞතීස්මය ලබා තමාගේ මිහිපිට සේවයෙහි මුල් ම පියවරට පා තැබූ සේක. උන්වහන්සේට පසුතැවිලි වීමක් හෝ පවිත්‍ර වීමක් අවශ්‍ය නොවූවද ජනතාවගේ ජීවිත තුළ නවතාවයක් අත්දැකීමට ඔවුන් තුළ මනස්ථාපනය වීමක් ඇති විය යුතු බව අනුමත කළ සේක.

## ජේසුස් වහන්සේගේ බෞතීස්මයේ දී සිදු වූ දේ ශුද්ධ බයිබලයෙන්

**"ජොහාන් විසින් බෞතීස්ම ස්නාපනය කරනු ලැබූ සේක. උන්වහන්සේ දියෙන් ගොඩ නැගෙත් ම, ස්වර්ගය විවර වී ආත්මයාණන් වහන්සේ පරවියකු මෙන් තමන් පිට බැස එනු දුටු සේක. තව ද ස්වර්ගයෙන් නික්මුණු හඬක්, "ඔබ මාගේ ප්‍රියාදර පුත්‍රයාණෝ ය. ඔබ කෙරෙහි ඉතා ප්‍රසන්නව සිටිමි" පැවසී ය.**

**ශු. මාර්ක් 1 ඃ 10-11**



10:2 රූපය - ජේසුස් වහන්සේගේ බෞතිස්මය

ජේසුස් වහන්සේගේ මිහිපිට සේවය ආරම්භ කිරීමට පෙර, සිදු වූ මෙම සිදුවීම මගින් අවධාරණය කරණු ලැබුවේ,

- උන්වහන්සේ, ප්‍රේමණීය දේව පුත්‍රයා බවත්
- උන්වහන්සේ ගත් ක්‍රියා මාර්ගයට පියාණන් වහන්සේ ප්‍රසන්න වූ බවත්
- ශුද්ධාත්මයාණන් වහන්සේ එම අවස්ථාවේ වැඩ සිටි බවත් ය.

ජේසුස් වහන්සේ ශුද්ධාත්මයාණන් වහන්සේගෙන් පූර්ණ ව මිහිපිට තමාගේ සේවය, පියාණන් වහන්සේගේ කැමැත්තට යටත් ව පුත්‍රයාණන් ලෙස සම්පූර්ණ කළ සේක. මෙසේ ජේසුස් වහන්සේගේ බෞතීස්මය තුළ ශුද්ධාත්මයාණන් වහන්සේ වැඩ සිටි අයුරු පැහැදිලි වේ.

කටපාඩම් කරමු.
ගලාති 3 : 27

ක්‍රියාකාරකම

(1) පහත සඳහන් වාක්‍යය ඔබගේ සටහන් පොතේ පිටපත් කොට යා කරන්න

| | |
|---|---|
| 1. ජොර්දාන් නදියේ දී | 1. ජොහාන්තුමාගේ සේවය විය. |
| 2. ක්‍රිස්තු බෞතීස්මයේ දී පරවියා | 2. ජේසුස් වහන්සේ ය. |
| 3. ජනතා හදවත් පවිත්‍ර කිරීම | 3. බැතිමතුන් සවිය ලබත් |
| 4. දෙවිඳුන්ගේ ප්‍රියාදර පුත්‍රයා | 4. ජලයේ ගිල්වා බෞතීස්මය සිදු විය. |
| 5. ශුද්ධාත්ම බලයෙන් | 5. ශුද්ධාත්මය සංකේතවත් විය. |

(2.) ස්නාවක ජොහාන්තුමාගේ මෙහෙවර තුළ ජේසුස් වහන්සේ පිළිගැනීමට ජනතා සිත් සූදානම් කළේ කෙසේ ද? කරුණු දෙකක් ලියන්න.

# 11. දෙව් වදනින් ජය

දිනක් පාසල අවසන් වී අනිල් හා සුනිල් සිය නිවෙස් කරා ගමන් කරමින් සිටියහ.

අනිල් - බලන්නකෝ අර අඹ ගහ දිහා, පැහිලා ඉදුණු අඹ පිරිලා. ඒවා හරිම රසයි. මදය මී පැණි වගේ. වෙළෙඳුන් එක ගෙඩියක් රුපියල් දහයකට විකුණන්නේ.

සුසිල් - හරිම ලස්සනයි බලන්න, රස කොහොම ඇත් ද? දිවට රසත් දැනෙනවා. අපි පොල්ලක් අරන් පහරක් දෙමු අර පොකුරට. ඒවා වැටෙන්නේ පාරට, අහුලාගෙන මැරතන් එකක් දුවමු.

අනිල් - -- හරි, හරි, මම උදව් දෙන්නම් අහුලාගෙන, දුවන්න. මේ ගස පසු කර නිකම්ම යන්න බැහැ.

සුසිල් - (පොල්ලක් ගෙන වෙර දමා අඹ පොකුරට ඉලක්කය ගෙන ගහන්න යද්දී ම....)
බැහැ, බැහැ, බැහැ. මා කරන දේ වැරදියි. මට මතක් වෙනවා

අනිල් - මොකද ඔයා හිත හිතා උඩ බලාගෙන ඉන්නේ. දෙන්නකෝ හොඳ පොලු පහරක්. මේ අත්තේ එල්ලෙන පොකුරට,

සුසිල් - බැහැ අනිල්, මගේ හිතට එකඟ ව එය කරන්නට ඉඩ දෙන්නේ නැහැ. ගුරුතුමී කියූ දේව වචනය මගේ කණට රැව්පිළිරැව් දෙනවා. මට ඒ වචන සිහි වුණා. ඔයා ඊයේ ඉරිදා පාසලට ආවේ නැහැනේ.

අනිල් - ඔව් ඊයේ මා සිටියේ අසනීපයෙන්. අනේ මටත් කියන්නකෝ ඒ පාඩමේ විස්තර. අපි යමු අපේ ගෙදර. කෑම කාලා මට කියා දෙන්න ඒ පාඩම ගැන. ඊට පස්සේ මාත් එන්නම් ඔයාගේ ගෙදර ගිහින් ටිකක් සෙල්ලම් කරන්න.

සුසිල් - කදිම අදහස. මා අපේ අම්මට කියන්නම් (කෑමෙන් පසු දෙදෙනාම මිදුලේ වාඩි වී ශුද්ධ බයිබලය ගෙන කියවා බැලීමට සදානම් වේ.)

ගුරුතුමිය කීවා. **ශු. ලූක් ශුභාරංචියේ හතර වන පරිච්ඡේදයේ** ජේසුස් වහන්සේ බෞතීස්මය ලැබූ පසු මුහුණ දුන් සිද්ධියක් ගැන. අපි බලමු උන්වහන්සේ ගියේ කොහාට ද ගියේ කුමකට ද කියා. ආ..... මේ තියෙන්නේ ගුරුතුමිය අපට කියා දුන් සිද්ධිය.




අනිල් - මෙන්න එහි අදහස කෙටියෙන්,
ජේසුස් වහන්සේ ශුද්ධාත්මානුභාවයෙන් පූර්ණ ව පාළුකරයට ගෙන යනු ලැබී ය. දින හතලිහක් මුළුල්ලේ උන්වහන්සේ උපවාසයෙන් කාලය ගත කළ සේක. එසේ කළේ සේවය ආරම්භයට පෙර භාවනාවෙන් හා යාච්ඤාවෙන් දේව මග පෙන්වීම සෙවීමට ය. තවද උන්වහන්සේට බඩගිනි ඇති වූ බවත් පරීක්ෂා තුනකට මුහුණ දුන් බවත් ලියැවී ඇත .

සුසිල් - දැන් අපි කියවමු පළමු වන පරීක්ෂාව හා ජේසුස් වහන්සේ දුන් පිළිතුර

**යක්ෂයා-**

**ඔබ දේව පුත්‍රයා නම්**
**මේ ගල් ගෙඩිය**
**පාන් ගෙඩියක් වන්නට**
**අණ කළ මැනව.**
**ශු. ලූක් 4 : 3**

**ජේසුස් වහන්සේගේ පිළිතුර-**

**මිනිසා**
**කෑමෙන් පමණක්**
**ජීවත් නොවේ යයි**
**ලියා තිබේ.**
**ශු. ලූක් 4 : 4**

උන්වහන්සේ ශුද්ධ ලියවිලි මනාව දැන සිටි නිසා ඒ මොහොතේ දී යක්ෂයාගේ යෝජනාවට සාර්ථක පිළිතුරක් ලබා දීමට හැකි විය.
**ද්විතීය නීති සංග්‍රහයේ 8 : 3 බලන්න.**

අනිල් - ජේසුස් වහන්සේ, දේව පුත්‍රයා නිසා එක වචනයකින් ගල් රොටි කරන්නට හැකියාව තිබුණි. නමුත් තම මෙහෙවර මිනිසාගේ ලෞකික අවශ්‍යතා සපුරාලීමට වඩා වෙනස් මගක් ගන්නා බවට උන්වහන්සේ තම පිළිතුරෙන් අවධාරණය කළ සේක.

සුසිල් - දේව වචනයෙන් ම පිළිතුරු දෙන්න ශුද්ධාත්මයාණන් වහන්සේ තමයි ඒ වේලාවේ ජේසුස් වහන්සේට මග පෙන්වූයේ. අපි දැන් බලමු ඊළඟ පරීක්ෂාව.

| යක්ෂයා | ජේසුස් වහන්සේගේ පිළිතුර |
| --- | --- |
| **ලෝකයේ සියලු රට රාජ්‍යයන් පෙන්වා ඒවායේ ආධිපත්‍යය ද යස ඉසුරු ද ඔබට දෙන්නෙමි. ඒවා මට පවරා දී ඇති හෙයින් කැමති කෙනකුට ඒවා දෙමි. එබැවින් ඔබ මා ඉදිරියෙහි නමස්කාර කරන්නේ නම් මේ සියල්ල ඔබ සන්තක වන්නේ ය. ශු. ලූක් 4 : 5-7** | **නුඹේ දෙවි වන ස්වාමින් වහන්සේට පමණක් සේවය කරන්නැයි කියා ලියා තිබේ. ශු. ලූක් 4 : 8** |

අනිල් - යක්ෂයා ජේසුස් වහන්සේට ගෙනාවේ අයහපත් යෝජනාවක් නේ. අපි නමදින්නේ එකම දෙවියන් වහන්සේ, අපගේ සියල්ලේ දී පළමු තැන දෙන්නේ උන්වහන්සේට පමණක් නේ.

සුසිල් - නමුත්, ජේසුස් වහන්සේගේ මෙහෙවර යොමු වී තිබුණේ ජනතාව දෙවියන් වහන්සේ වෙතට ළඟා කිරීම යි.
නමුත් පරීක්ෂාවෙහි අරමුණ වූයේ භෞතික දේවලට ගැති වීමට නමස්කාර කිරීමට සැලැස්වීම යි. මේවාට උන්වහන්සේ පිළිතුරු දුන්නේ ශුද්ධ ලියවිලි තුළින් ම යි. **ද්විතීය නීති සංග්‍රහයේ 6: 13 දෙස බලන්න.**

අනිල් - මෙවරත් යක්ෂයා ජය ගත්තේ නැහැ නේද?

සුසිල් - ජේසුස් වහන්සේ තවත් පරීක්ෂාවකට මුහුණ දුන්නා. අනිල් ඔයා කියවන්න. ශු.ලූක් 2 : 9 - 12

අනිල් - උන්වහන්සේ දේව මාළිගාවේ කොත මුදුනෙහි සිටුවා

**"ඔබ දෙවියන් වහන්සේගේ පුත්‍රයා නම් මෙතැනින් පහතට පනින්න. ඔබට රැකවරණය සළසනු වස් උන්වහන්සේ සිය දූතයන් හට අණ දෙනු ඇත .යම් හෙයකින් ඔබේ පය ගලක නොවදින පිණිස ඔවුන් සිය දෝතින් ඔබ උසුලනු ඇත කියා ද ලියා තිබේ".**

සුසිල් - බලන්න, ඒ පරීක්ෂාව හරියට ජේසුස් වහන්සේ වීරයෙක් කරන යෝජනාවක් නේද?

සුසිල් - ඔව්, ඒ ප්‍රබල පරීක්ෂාවක්. නමුත් එයත් ජේසුස් වහන්සේ පරාජය කළා. උන්වහන්සේ පැවසුවේ,

**නුඹේ දෙවි වන ස්වාමීන් වහන්සේ**
**පරීක්ෂා නොකරන්න කියා ලියා**
**තිබේ යනුවෙනි .**
**ශු. ලූක් 4 : 12**

උන්වහන්සේ මේ වචන පැවසුවේ ද ශුද්ධ ලියවිලි තුළින්ම යි. බලන්න **ද්වීතීය නීති සංග්‍රහයේ 6: 16** පදය

සුසිල් - ජේසුස් වහන්සේ පරීක්ෂා ඉදිරියෙහි ක්‍රියා කළ ආකාරය දරුවන් වන අපට ආදර්ශයක් නේද?

අනිල් - මට දැන් තමයි තේරුණේ ඔයා අඹ පොකුර දිහා බලාගෙන අඹ නොකැඩුවේ ඇයි ද කියා, ගුරුතුමී ඉගැන්වූ පාඩමේ දෙවි වදන් ඔයාට මතක් වුණා. ජේසුස් වහන්සේ පරීක්ෂා ජය ගන්නට යොදා ගනු ලැබුයේ උන්වහන්සේ දැන සිටි දේව වචනයම බව අප දුටුවා. සුසිල් ඔයාට මම ස්තුතිවන්ත වෙනවා මේ වැදගත් දේවල් මට කියා දුන්නට. දැන් මා දන්නවා පරීක්ෂා ජය ගන්නට, හරි දේ තෝරා ගන්නට, ශුද්ධාත්මයාණන් වහන්සේ දේව වචනය තුළින් මග පෙන්වීම අපට ලබා දෙන බව.

**කටපාඩම් කරමු.**
**එපීස 6: 17-18**

ක්‍රියාකාරකම

1. ජේසුස් වහන්සේ මුහුණ පෑ පරීක්ෂා තුනට ප්‍රතිචාර දැක්වූ බයිබල් පාඨ, පැරණි ගිවිසුමෙන් සොයා ලියන්න.

2. ස්වාමින් වහන්සේගේ යාච්ඤාව තුළ අප පරීක්ෂාවෙන් මිදීම සඳහා කෙරෙන ඉල්ලීම සඳහන් වන්නේ කෙසේ ද ?

# 12. කිතු දහම දසත පැතිරේ

**ජේසුස් ක්‍රිස්තුස් වහන්සේ උත්ථාන වී ජීවමාන ව විවිධ අයට දර්ශනය වූ ආකාරය, පිළිබඳ ව පෙර පාඩම්වලින් ඔබ දැනුවත් වී ඇත. උත්ථානයෙන් දින හතළිහකට පසු ශ්‍රාවකයන් ඉදිරියෙහි බෙතානියේ කඳු මුදුනේ දී ස්වර්ගාරෝහණය සිදු විණි. එම අවස්ථාවේ දී උන්වහන්සේ ශ්‍රාවකයන් වෙත ශුද්ධාත්මයාණන් වහන්සේ එවන බවට ඉතා පැහැදිලි පොරොන්දුවක් දී, ඉන් ලැබෙන වඟ පෙන්වීම තුළ ජෙරුසලම, ජූදය, සමාරිය හා පොළොවේ සීමාන්තය දක්වා සාක්ෂිකාරයන් වන්නට ඔවුනට කී සේක.**




**මේ පොරොන්දුව ඉටු වූ බව ඔබ දන්නවා ද ?**

ජේසුස් වහන්සේ පැවසූ ලෙස ම ස්වර්ගාරෝහණයෙන් දින දහයකට පසු ජුදෙව්වන්ගේ පෙන්තකොස්ත මංගල්‍ය දවසේ ශ්‍රාවකයෝ ශුද්ධාත්ම බලය ලැබූ හ . ඒ මොහොතේ පටන් දේව සැලැස්ම අනුව ශුභාරංචිය ප්‍රකාශ කරමින්, ඔවුහු බලවත් ව ජේසුස් වහන්සේ වෙනුවෙන් සාක්ෂි දැරූ හ.

මෙම ශුභාරංචි පණිවුඩය සමාරිය කරා ගෙන ගිය ආකාරය මෙම පාඩමෙන් අපි විමසා බලන්නෙමු. ඒ බාරදූර සේවයට පිලිප් තුමා දායක වූ අන්දම ලිපිය කියවීමෙන් අපට වැටහෙනු ඇත.



දයාබර සහෝදරයා /සහෝදරිය,

මම ග්‍රීක බස කතා කරන ජුදෙව්වෙක්. මා ජේසුස් වහන්සේගේ අනුගාමිකයෙක් ව සිටියා. උන්වහන්සේ ස්වර්ගයට ඔසවා ගනු ලැබ දින දහයකට පසු ගෝල පිරිස ඇතුළු අනුගාමිකයන් උඩුමහලක යාච්ඤා කරමින් සිටිය දී ශුද්ධාත්ම බලයෙන් ශක්තිමත් කරනු ලැබුවා . උන්වහන්සේ වදාළ ලෙස අපි සියළු දෙනා ම ශුභ අස්න පිළිගැන්වීමට නිර්භීත ව උනන්දු ආත්මයෙන් ක්‍රියා කළා. ජෙරුසලම් සභාවේ නායකයා වූයේ සීමොන් පේදුරුතුමා ය. ග්‍රීක බස කථා කළ ජුදෙව්වන්ගේ වැන්දඹුවන්ට, යුතු ලෙස සහනාධාර බෙදා දෙන්නට උපස්ථායකයන් සත් දෙනකු මුල් සභාව විසින් තෝරා පත් කළා. ඒ අවස්ථාවේ ඔවුන් අතර මා ද උපස්ථායකයකු ලෙස තේරී පත් වුණා.

ස්තේපන් තුමා අපගේ මූලිකයා වුණා. එතුමා ඉතා ම බලවත් ලෙස ක්‍රිස්තුස් වහන්සේ ගැන දේශනා කළ නිසා, ඇතැම් ජුදෙව්වරු ඊර්ෂ්‍යාවෙන් එතුමාට ගල් ගසා මරණයට පත් කළා. මෙම මරණයට පසු, අනුගාමිකයෝ බොහෝ දෙනෙක් ශුභාරංචිය රැගෙන විවිධ පළාත් කරා විසිර ගියා. ඔවුන් ඒ ඒ ප්‍රදේශවල ශුභාරංචිය ප්‍රකාශ කළා . ශුද්ධාත්මයාණන් වහන්සේ මා ගෙන ගියේ සමාරියට යි . ජුදෙව් හා සමාරිය ජනතාව අතර මිත්‍රත්වයක් තිබුණේ නැහැ. මා ජුදෙව්වකු වුවත්, ආත්මයාණන් වහන්සේ මා බලවත් කර සමාරියේ සේවයට යොමු කළා.

අන්‍ය ජාතීන් ලෙස සළකනු ලැබූ සමාරිත ජනතාව, ක්‍රිස්තුස් වහන්සේගේ ශුභාරංචිය, විශ්වාසයෙන් පිළිගත්තා. රෝගීන්, කොරුන්, අංශභාග රෝගින් සුවය ලැබුවා. අශුද්ධාත්ම පවා දුරු කිරීමට ශුද්ධාත්මයාණන් වහන්සේ මට උපකාර කළා. අදහා ගත් සියල්ලෝ ම බෞතීස්මය ලැබුවා. සමාරියේ නුවර මහත් ප්‍රීතියක් ඇති වුණා. පේදුරුතුමා හා ජොහාන්තුමා සමාරියට පැමිණ, අදහා ගත් අය වෙනුවෙන් යාච්ඤා කළ විට ඒ අය ශුද්ධාත්මය අත්දැක්කා.

ඉන්පසු ස්වාමින්වහන්සේගේ දූතයෙක් මට කථා කර "දකුණු දෙස ජෙරුසලමේ සිට ගාසාවට බසින පාරට යන්න." යි පැවසුවා. මා දූත හඬට කීකරු ව එම පාරට ගියා.

පුදුමයක් ! පාළු පාරක, රථයක වාඩි වී ගමන් ගත් පුද්ගලයකු මා දුටුවා. එම රථය අසලට යන්නට ශුද්ධාත්මයාණන් වහන්සේ මට මග පෙන්වූවා. ඔහු රථය තුළ හඬ නගා පොතක් කියවමින් සිටියා.

# මෙන්න බලන්න ඔහු කියැවූ යෙසායා ග්‍රන්ථයේ ශුද්ධ ලියවිලි

**“මරන්න ගෙන යන බැටළු පොව්වෙකු සේ ද බැටළු දෙනක ලොම් කපන්නා ඉදිරියේ නිහඬ ව සිටින සේ ද එතුමාණෝ මුඛය නෑර සිටියහ. බලහත්කාරකමින් ද යුක්ති විරෝධී ලෙස ද එතුමෝ ගෙන යනු ලැබූහ. මනුලොවින් සිඳ දමනු ලැබූහ, සෙනඟගේ පව් උදෙසා මරනු ලැබූහ.”**

**යෙසායා 53:7-8**

මේ වචන ඇසුණු විට, ඔහු හා කථා කරන්නට ශුද්ධාත්මයාණන් වහන්සේ මට මග පෙන්වූවා. මා රථය ළඟට ම දුව ගොස් ඔහු කියවන දේ තේරෙනවා දැයි ඇසුවා. ඔහුගේ පිළිතුර වුණේ **“යමෙක් මග පෙන්නුවොත් මිස මට තේරුම් ගත හැක්කේ කෙසේ ද ”**යන්න යි.



12:1 රූපය - ගාසාවට යන මාර්ගයේ පිලිප්තුමා හා එතියෝපීය ජාතික මිනිසා

රථයට නැගී හිඳගන්නට ඔහු මගෙන් ඉල්ලා සිටියා. ශුද්ධාත්ම මග පෙන්වීම අනුව, ඒ ආරාධනාව පිළිගත් මා, ඔහු ළඟින් ම හිඳ ගත්තා. ඔහුට නොතේරෙන ශුද්ධ ලියවිල්ල පහදා දුන්නා. එහි සඳහන් වූයේ දුක් උසුලන සේවකයා ගැන අනාවැකිය යි. එය ජේසුස් වහන්සේගේ දුක්විඳීම, මරණය උත්ථානය, තුළින් සම්පූර්ණ වුණා. ඒ සියල්ල මා ඔහුට පැහැදිලි කළ විට, ශුද්ධ ලියවිලි පාඨය වටහා ගෙන පිළිගත්තා. රථය ගමන් කරද්දි ම අසළ ජලය තිබූ ස්ථානයක් දුටු ඔහු බෞතීස්ම කරන ලෙස මගෙන් ඉල්ලා සිටියා. "ඔබ ජේසුස් වහන්සේ අදහන්නෙහි ද ?" මා ඇසූ විට, ඔහු ප්‍රීතියෙන් ජේසුස් ක්‍රිස්තුස් වහන්සේ දේව පුත්‍රයා බව අදහමි"යි ප්‍රකාශ කළා. මා ද ඒ මොහොතේ දී ම ඔහු බෞතීස්ම කළා. ඔහු තුළ ශුද්ධාත්මයාණන් වහන්සේ වැඩ සිටින බව ඔහුගේ මුහුණින් නික්මුණු ආලෝකයෙන් ම පැහැදිලි වුණා. ඔහු රථයට නැගී එතියෝපිය කරා ගමන් කළේ ශුභාරංචියේ ප්‍රීතිමත් පණිවුඩයත් රැගෙන යි.

## මෙම පුද්ගලයා කවුදැ යි දැන ගැනීමට ඔබත් කැමති ඇති?

ඔහුගෙන් ම මම ඒ ගැන දැන ගතිමි. ඔහු එතියෝපියේ කන්දකී නම් රැජින යටතේ සේවය කළ, ඇගේ වස්තුවේ අධිකාරි වූ රාජ්‍ය නිළධාරියෙක්. ඔහු වන්දනාව පිණිස ජෙරුසලමට ගොස් ආපසු සිය රට බලා ගමන් කරද්දී තමයි මට මුණ ගැසුණේ. සමාරිතයන් වැනි කොන් වූ ජනතාවට හා රාජ්‍ය නිළධාරියාට ශුභාරංචිය පැහැදිලි කිරීමට ශුද්ධාත්මයාණන් වහන්සේ ගේ මග පෙන්වීම ගැන මට සන්තෝෂ යි. දෙවියන් වහන්සේගේ අරමුණ සියළු ජාතීන් අතර සුභාරංචිය ව්‍යාප්ත කිරීම බව මට මෙම සිද්ධියෙන් පැහැදිලි වුණා. ඒ ගැන මට ප්‍රීතියි.

මේ
ඔබේ හිතාදර
**පිලිප්**

**උපස්ථායක පිලිප්තුමා ශුද්ධාත්ම මග පෙන්වීම අනුව ප්‍රීතියෙන් හා බලයෙන් ක්‍රියා කළ ආකාරය පිළිබඳ ව වැදගත් පාඩමක් අපි මෙම පාඩමෙන් ඉගෙන ගතිමු. එමෙන්ම අපට එහි උතුම් පණිවිඩයක් ද දී ඇත. මේ උතුම් සුබ හසුන අන්‍යයන්ට ප්‍රකාශ කරන්නට දෙවියන් වහන්සේ භාර දී ඇත්තේ අපට ය. අප ද ඒ කැඳවීමට කීකරු ව ඉදිරියට යමු. ශුද්ධාත්මයාණන් වහන්සේ බලවත් ලෙස අප ව ඒ සඳහා යොදවන බව සහතික ය.**

**කටපාඩම් කරමු.**
**රෝම 15 : 13**

ක්‍රියාකාරකම:

1. ශුද්ධාත්ම මග පෙන්වීම ඇතුව පිලිප් තුමා ක්‍රියා කළේ කෙසේ ද?

2. කිතුනු නොවන ඔබේ මිතුරකුට ජේසුස් වහන්සේගේ එක් ඉගැන්වීමක් හඳුන්වා දීම සඳහා නව ගිවිසුමෙන් ඔබ යොදා ගන්නා බයිබල් පාඨයක් ලියා දක්වන්න.

# 13. ප්‍රේමයේ විශිෂ්ටත්වය

**යහපත් කිතුනුවකු වීම සඳහා සපුරාලිය යුතු විශේෂ ගුණාංග දෙකක් හඳුනා ගත හැකි ය. එනම් දෙවි පියාණන් වහන්සේ කෙරෙහි පවත්වාගත යුතු ඇදහිල්ලත් උන්වහන්සේ හා අසල්වැසියා වෙත දැක්විය යුතු ප්‍රේමයත් ය. මේ අතුරින් ප්‍රේමයෙහි වැදගත්කම ජේසුස් වහන්සේ අවධාරණය කළ ආකාරය මෙම පාඩමෙන් විමසා බලමු.**




මුතු ඇටයක් සේ අගනා
මහා සයුර මෙන් නිම නොවනා
කිතුනු දිවිය ඔපවත් කරනා
විශිෂ්ට ගුණාංගයකි නිතිනා

**මේ ගුණාංගය කුමක් දැ යි ඔබ දන්නවා ද ?**

ඒ ප්‍රේමය නමැති වටිනා ගුණාංගය යි. කිතුනුවන් ලෙස අප අපට ප්‍රේම කරන්නාක් මෙන් අන් අය හට ද ප්‍රේමය දැක්වීම දෙවියන් වහන්සේගේ අපේක්ෂාව යි.

**කිතුනුවන් ලෙස අන් අය හට ප්‍රේමය දැක්විය හැකි හොඳම මග කුමක්ද ?**

ජේසුස් වහන්සේ මේ සඳහා පිළිතුරු සැපයීමට රසවත් අගනා උපමාවක් යොදාගත් සේක. ඊට මග සැලසුණේ, ජේසුස් වහන්සේ පරීක්ෂා කිරීම සඳහා පැමිණි විනයධරයකු මගිනි.

විනයධරයා:
ගුරු දේවයෙනි හිමි කර ගැනුමට - සදාකාල ජීවනයේ උරුමය
කළ යුතු දේ කිව මැන දැන් මා හට - පමා නොවී එය ඉටු කරලන්නට

ජේසුස් වහන්සේ:

ව්‍යවස්ථාවෙහි ලියා තිබෙන්නේ - කිමෙක් ද ඔබ දැන් කියන්න මා හට
කෙලෙස ද ඔබ එය තේරුම් ගන්නේ-කිනම් ලෙස ද එය වටහා ගන්නේ.

විනයධරයා:

ඔබේ මුළු හදින් ආත්මයෙන් - වීර්යයෙන් හා නුඹේ බුද්ධියෙන්
දෙවි සමිඳුන්ටත් අසල්වැසියටත් - ප්‍රේම කළ යුතුයි සැමදාමත්

ජේසුස් වහන්සේ:

නිවැරදි වේ ඔබ පැවසූ පිළිතුර - එලෙසම කටයුතු කළ යුතු වේ
ජීවත් වනු ඇත මෙලොවෙහි දිගු කල්--ජීවත් වේ ඔබ මේ පොළොවේ

**විනයධරයා තමා නිවැරදි බව ජේසුස් වහන්සේ ඉදිරියෙහි දැක්වීමට කැමති විය.**

විනයධරයා:

කවුරු ද මාගේ අසල්වාසියා - කවුරු ද මාගේ අසල්වාසියා
ගුරු දේවයිනි කිව මැන මා හට - කවුරු ද මාගේ අසල්වාසියා

ව්‍යවස්ථාව දැන සිටිය ද එහි නියම අර්ථය පිළිබඳ නිසි අවබෝධයක් නොතිබූ මෙම විනයධරයා හට ප්‍රේමයේ විශිෂ්ටත්වය පිළිබඳ අනගි පාඩමක් කියා දීමට ජේසුස් වහන්සේ යහපත් සමාරිතයාගේ උපමාව පැවසූ සේක.

**උපමාවට පසුබිම**

**ජුදෙව් හා සමාරිය ජාතීන් අතර බොහෝ කලක් තුළ මුල් බැසගත් වෛරයකි, අසමගියකි. ජේසුස් වහන්සේ මෙය නොරිස්සූ සේක.**

ජුදෙව් මිනිසෙක් ගමනක් යන්නේ
ජෙරුසලමෙන් ජෙරිකෝව බලානේ
සොරු මුළකට ඔහු අසු වන්නේ
මහ කරදරයකි සිදු වන්නේ



13.1 රූපය - ජුදෙව් මිනිසකු සොර මුලකට අසු වී

සොරු ඔහු වස්ත්‍ර පැහැර ගන්නේ
තලා පෙළා අඩපණ කොට යන්නේ
අසරණයා වේදනා විඳින්නේ
කව්දැයි ඔහු පිහිට ට දැන් එන්නේ



13:2 රූපය - සොරු වස්ත්‍ර පැහැර ගෙන අසරණයා මග හැර යයි

**ජුදෙව් පූජකවරු - දේව මාළිගාවේ වත් පිළිවෙත් ඉටු කළ පිරිසයි.**

ඒ මග පූජකයෙකි දැන් එන්නේ
වැටී සිටින මිනිසා නෙත ගැටුණේ
පාරෙ අනෙක් පැත්තට ඔහු යන්නේ
අසරණයට නැහැ උදව් කරන්නේ

**ලෙවී ගෝත්‍රිකයන් - දේව මාළිගයේ නමස්කාර සේවයේ යෙදී සිටිය අයයි.**

ලෙවියෙක් ඒ පාරෙන් දැන් යන්නේ
මිනිසා දැක ඔහු අහක බලන්නේ
කිසිවකු ඔහු හට සහය නොවන්නේ
අසරණ මිනිසා යළි තනි වන්නේ

**සමාරිතවරුන් - ජුදෙව්වරුන් බැබිලෝනියට පිටුවහල් කළ විට සමාරියට පැමිණ පදිංචි වූ කණ්ඩායම යි. ජුදෙව්වන් විසින් ඔවුන් ප්‍රතික්ෂේප කරන ලදි.**

සමාරිතයකු යි ඒ මග යන්නේ
මිනිසා දැක එතැනට ළං වන්නේ
ඔහු හද අනුකම්පාවෙන් පිරුණේ
හනිකට මිනිසට උදව් කරන්නේ



13:3 රූපය - සමාරීය ජාතිකයා ජුදෙව්වාට උපකාර කරමින්



තුවාල බැඳ තෙල් මිදි යුෂ   ගල්වන්නේ
තමාගේ කොටළුවා පිට   හිඳුවන්නේ
තානායමකට ඔහු ගෙන   යන්නේ
ආදරයෙන් රැකවරණය   දෙන්නේ

13:4 රූපය - සමාරීය ජාතිකයා ජුදෙව්වා තානායමට රැගෙන යාම

තානායම්කරු වෙත ඔහු   යන්නේ
රිදී කාසි දෙකකුත් ගෙන   දෙන්නේ
මිනිසා ඔහු හට භාර   කරන්නේ
යළි ආ විට වැඩි මුදල   ගෙවන්නේ



13:4 රූපය - සමාරීය ජාතිකයා ජුදෙව්වා තානායමට බාර දීම

ජේසුස් වහන්සේ:

සොරුන් අතට අසුවූ ඒ මිනිසට - අසල්වැසියා වූයේ කවරෙක්දෝ ?
ඔබ සිතනා ලෙස පිළිතුරු දුන මැන - අසල්වැසියා කව්දැයි දැන්

කිව මැන

විනයධරයා:

යමකු ඔහුට ප්‍රේමය දැක්වූයෙ ද  - දයාව දක්වා උදව් කළේහි ද
අසල්වැසියා නම් ඒ මිනිසා ම ය - උදව් කළේ  ආදරය නිසා ම ය

ජේසුස් වහන්සේ:

ඔබත් ගොසින් ඒ විලසින් කරනු - ප්‍රේමය දයාව සැමට දක්වනු

**දෙවියන් වහන්සේට හා අසල්වැසියාට ප්‍රේම කිරීම සඳහා**
**තමාම කැපවීමෙන් හා වැයවීමෙන් ප්‍රේමය ක්‍රියාවට නැංවිය යුතු ය.**
**ඒ සඳහා ජේසුස් වහන්සේ ම අපට මග දක්වන සේක.**
**බඩගිනි අයට ආහාර සැපයීමෙන්,  පිපාසිත වූවන්ට බීමට දීමෙන්**
**ආගන්තුකයින් නිවසට පිළිගැනීමෙන්**
**වස්ත්‍ර නැති අයට වස්ත්‍ර ලබා දීමෙන්**
**රෝගාතුරයින් රැක බලා ගැනීමෙන්, සිරගත වූවන් බලන්නට යෑමෙන්**
**ප්‍රේමය ක්‍රියාවට නැංවිය හැකි ය.**

**ඒ සඳහා,**

**යහපත් සමාරිය ජාතික මිනිසාගෙන් මග පෙන්වීම් හා ආදර්ශ ලබමින් අපි**

- ❈ තරාතිරම් නොබලා සැම කෙනකු වෙත ම අපගේ නිරන්තර සැලකිල්ල යොමු කරමු.
- ❈ අපට ඇති සම්පත් අන් අයගේ අවශ්‍යතා වෙනුවෙන් වැයකරමු.
- ❈ සැම විට ම ප්‍රේමයෙන් අන් අයගේ ජීවිත නගා සිටුවීම සඳහා කැප වෙමු.
- ❈ ප්‍රති උපකාර අපේක්ෂාවෙන් තොර ව උපකාර අවශ්‍ය අයට සහාය වෙමු.

එම ප්‍රේමය තවත් අර්ථවත් කරලීම සඳහා, ජේසුස් වහන්සේගේ ප්‍රේමයේ විශිෂ්ට ආදර්ශයට අපි යොමු වෙමු.

**උන්වහන්සේ, තරාතිරම් නොබලා සැම කෙනකු පිළිගැනීමෙන්**
**උපකාර අවශ්‍ය සැම කෙනකුට ම උපකාර කිරීමෙන්**
**සතුරන්ට පවා කමාව දීමෙන්**
**සැම දෙනා වෙනුවෙන් ම කුරුසිපත් ව දිවි පිදීමෙන්**
**ප්‍රේමයේ විශිෂ්ටත්වය**
**විදහා පෑ සේක.**

**එනිසා අපි ද කිතුනුවන් ලෙස,**

**දෙවියන්වහන්සේට ප්‍රමුඛතාවය දෙමින්**
**නිරතුරු ව ම උන්වහන්සේට ප්‍රේම කරමු.**

**අන් අයට ප්‍රේමය දක්වමින් ඔවුන්**
**උදෙසා සීමා රහිත ව වැය වෙමු.**

**ඒ තුළින් අපි,**

**දෙවියන් වහන්සේගේ ප්‍රේමයට සාක්ෂිකරුවෝ වෙමු.**

**කටපාඩම් කරමු.**
**ශු. ලූක් 10 : 27**

ක්‍රියාකාරකම

1.පහත ප්‍රහේලිකාව නිවැරදිව සම්පූර්ණ කරන්න.




## හරහට

1. හිංසාවට පත්වූ මිනිසා .................... ජාතිකයෙකි.
2. විනයධරයා විසින් තමාගේ..................කවුදැ යි ජේසුස් වහන්සේගෙන් ඇසී ය.
3. එක් මිනිසෙක් .................... යන්නට පිටත් විය.
4. .................... ඔහුට තලා පෙළා අඩපණ කර ගියෝ ය.
5. .................... තමා නිවැරදි බව දැක්වීමට කැමති විය.
6. .................... වැටුණු මිනිසාට උපකාර කළේ ය.
7. ඔහු වැටුණු මිනිසා .................... වෙත ගෙන ගියේ ය.
8. වැටුණු මිනිසාට ඔහුගේ .................... ද අහිමි විය.

## පහළට

9. සමාරිය ජාතිකයා වැටුණු මිනිසා සිය .................... පිට නංවා ගත්තේ ය.
10. වැටුණු මිනිසා පිටත්වූයේ .................... නම් නගරයේ සිට ය.
11. ඔහු .................... බලා ගියේ ය.
12. දෙවනුව පැමිණි .................... පාරේ අනෙක් පැත්තෙන් ගියේ ය.
13. සමාරිය ජාතිකයා හිංසාවට පත් වූ මිනිසාගේ තුවාලවල.......... ගැල්වී ය.
14. අපි අන් අයට .................... දක්වමු.
15. සමාරිය ජාතිකයා තානායම්කරුට රිදී .................... දෙකක් දුන්නේ ය.
16. වැටුණු මිනිසා මුලින් ම දුටුවේ .................... ය.

# 14. බලවත් ඇදහිල්ලක්

**ඇදහිල්ල හා ප්‍රේමය යහපත් කිතුනුවකු විසින් සිය ජීවිත තුළ ඇති කර ගත යුතු වැදගත් ගුණාංග දෙකක් බව අපි හඳුනා ගතිමු. ඒ අතුරින් කිතුනු ප්‍රේමය කෙබඳු විය යුතු ද යන්න අපි පසුගිය පාඩමෙන් උගතිමු. මෙම පාඩමෙන් අප උත්සාහ කරනු ලබන්නේ කිතුනු අප තුළ පවත්වා ගත යුතු ඇදහිල්ල සවිමත් කර ගැනීමට අදාළ අත්දැකීමක් ලැබීමට ය.**




අම්මායි මමයි සුපුරුදු පරිදි අදත් ගෙදරින් පිට වුණේ  ආච්චියි සීයයි බලන්න යන්න. ඔවුන් අප එනතුරු බලා ඉන්නේ හරිම ආසාවෙන්. ඒත් වෙනදා වගේ නොවෙයි අද පාර හරිම කලබල යි. පාර දෙපැත්තේ සෙනග පිරිලා. ඔවුන් කාවදෝ අමුත්තෙක් බලාපොරොත්තුවෙන් සිටින බව යි මට හැඟෙන්නේ.

“අම්මේ මේ කලබලය මොකක් ද කියා අපි ටිකක් නැවතිලා බලමු.” මම අම්මාට කීවා. තැන් තැන්වල සෙනග පිරිලා. අපට නැවතී සිටීමට පවා ඉතා අපහසුයි. ඒත් අපි පාරේ අයිනකට වෙලා මේ සිදුවන්නේ කුමක් දැ යි බලා සිටියා ‘පුතා මේ සෙනග මග දෙපස නැවතිලා බලාගෙන ඉන්නේ ජේසුස් වහන්සේ එනතුරු’. අන්න උන්වහන්සේ ශ්‍රාවකයන්  එක්ක මේ පැත්තට එනවා . අම්මා කීවා ය. මා ඉතා ආසාවෙන් ඒ දෙස බලා සිටියේ. මගේ හිතට දැනෙන්නේ පුදුම සතුටක්. එය වචනවලින් විස්තර කරන්නට බැහැ. ජේසුස් වහන්සේ ගැන, උන්වහන්සේ කරන පුදුම ක්‍රියා පිළිබඳ ව  මා අසා තිබුණා පමණ යි, කවදාවත් උන්වහන්සේ කවුද?  මොනවගේ කෙනෙක් ද? කියා දැක තිබුණේ නැහැ. ඒත්! අද පුදුම අවස්ථාවක් ! උන්වහන්සේ එන මගට උන්වහන්සේ ව පිළිගැනීමට වගේ සෙනග දුවගෙන යනවා, අන්ධ සීයා කෙනෙක් පාරේ වාඩි වෙලා හැම දෙනාගේ ම උදව් ඉල්ලනවා..

මේ අන්ධ සීයාගේ නම බාර්තිමෙයස් කියා අම්මා දවසක් කීවා. ආච්චි කීවා මොහු තිමේයස් කියා කෙනෙකුගේ පුතෙක්ලු. කොහොම වුණත් මේ අන්ධ සීයා ඉතා අසරණ දුප්පත් කෙනෙක් බවයි පෙනෙන්නේ.

"අන්න නාසරෙත් හි ජේසුස් වහන්සේ වඩිනවා" කියා ජේසුස් වහන්සේ එන මග බලා සිටි කවුදෝ කෙනෙක් සීයාට කීවා. සීයා එකපාරටම කලබල වුණා ."දාවිත්ගේ පුත් ජේසුස් වහන්ස මට අනුකම්පා කරන්න " කියා සීයා මහ හඬින් කෑගසනවා. "කරුණාකරලා ඔය ශබ්දය නවත්වන්න" නිහඬ වෙන්න, කීප දෙනෙක් ම සීයාට තරවටු කළා. ඒත් අන්ධ බාර්තිමෙයස් සීයා ඒවායින් නතර වෙන්නේ නැහැ. " දාවිත්ගේ පුත්‍රයාණෙනි මට අනුකම්පා කළ මැනව, මා ගැන බැලුව මැනව' කියා සීයා වැඩි වැඩියෙන් මොර දෙනවා.

"පුතා අන්න ජේසුස් වහන්සේ කුමක්දෝ කියනවා" අම්මා කීවා. "පුතා අපි තව ටිකක් එතැනට ළං වෙමු" අම්මා එසේ කියා මාවත් අල්ලාගෙන එතැනට ම කොහොම හරි ළංවුණා. දැන් හොඳට පේනවා සිදුවෙන දේවල්. 'ඔහුට හඬ ගසන්න' ජේසුස් වහන්සේ එතැන ඉන්න මාමා කෙනෙකුට කීවා. "අන්න සීයාට ජේසුස් වහන්සේ කතා කරනවා ධෛර්යය අරන් යන්න", ඒ මාමා එසේ කියමින් සීයාට ඉදිරියට යන්න ඉඩ දුන්නා. " අර බලන්න අම්මේ සීයා සළුව ගසා දමා පැන ගෙන දුවන හැටි" 'ඔව් පුතා අර බලන්න සීයාගේ මුහුණේ තියෙන සතුට, ඇස් නොපෙනුනාට පුදුම හැඟීමක් භක්තියක් ඒ මුහුණේ තියෙන්නේ." අම්මා කීවා.

"මා ඔබට කුමක් කර දෙනවාට ඔබ කැමති ද?" ජේසුස් වහන්සේ සීයාගෙන් අහනවා. "අනේ ගුරු දේවයිණී මට පෙනීම ලබා දෙන්න. " සීයා උත්තර දෙනවා " ඔබේ ඇදහිල්ල ඔබට සුවය ලබා දී තියෙනවා" කියා ජේසුස් වහන්සේ කීවා විතරයි සීයාට පෙනීම ලැබුණා. උන්වහන්සේගේ බලය හරි පුදුමයි." අම්මේ, මේ නම් පුදුම හාස්කමක්, අන්න සීයාගේ ඇස් ඇරුණා . අර! අර! බලන්න සීයාගේ සතුට.

පුතා, බාර්තිමෙයස් සීයා අද තමාගේ අන්ධ සිඟමන් ජීවිතයට සමු දෙයි. "අන්න! අන්න! කියන කොටම සීයා ජේසුස් වහන්සේ පස්සේ ගමන් කරනවා." හැමෝම පුදුමයට පත්වෙලා බලා සිටිනවා. "ඇත්තටම මෙය නම් සිහිනයක් සැබෑ වුණා වගෙයි, ඔව් ඇදහිල්ල නිසා සිහිනයක් සැබෑ වෙලා". "හරියටම හරි අම්මේ මේ නම් ඇදහිල්ලේ හාස්කමක්." මට හයියෙන් කෑ ගැසුණා "ඔව් පුතේ ඇදහිල්ල ඇත්නම් බොහෝ පුදුම දේවල් අත් දකින්න පුළුවන්." එසේ කියමින් අම්මා මගේ හිස අත ගෑවා.

## අන්ධ බාර්තිමෙයස් ඇදහිල්ලෙන් පෙනීම ලැබී ය.
## කිතුනුවන් තුළ තිබිය යුතු මේ ඇදහිල්ල  යනු කුමක් ද?

*ඇදහිල්ල වනාහි*
*බලාපොරොත්තු වන දේ පිළිබඳ සහතිකය වේ.*
*නොපෙනෙන දේ පිළිබඳ පැහැදීම ය.*
*හෙබ්‍රෙව් 11:1*

දෙවියන් වහන්සේට
සියල්ල කළ හැකි බව
විශ්වාස කරන්න....
එය ඇදහිල්ලයි

**තවදුරටත් ඇදහිල්ල පිළිබඳ ව දේව වචනය තුළින් සොයා බලා සටහන් කර ගන්න.**

| | | |
|---|---|---|
| ජාකොබ් 2:17 | ගලාති 3:26 | ශු. ලූක් 9:23 |
| ශු. මතෙව් 17: 20 | 1 තිමෝති 6:12 | ගලාති 2:16 |

### කිතුනු අපගේ දිනපතා ජීවිතයට ..............

- ★ ඇදහිල්ලෙහි ස්ථිර ව සිටිමු
- ★ ඇදහිල්ලෙන් ජේසුස් වහන්සේ වෙතට ළංවෙමු
- ★ ඇදහිල්ලෙන් ප්‍රාතිහාර්ය අත්දකිමු
- ★ ඇදහිල්ලේ බලය තුළ ජීවිත ජය ගනිමු.



නමදිමු හිමිතුම ඇදහිල්ලෙන්
පසසමු සමිඳුන් ඇදහිල්ලෙන්
යදිනෙමු දෙවිඳුන් ඇදහිල්ලෙන්
හිමි පසුපස යමු ඇදහිල්ලෙන්

පීඩා දුක් මැද ඇදහිල්ලෙන්
ලෙඩ දුක් ඇති විට ඇදහිල්ලෙන්
බාධක බිය මැද ඇදහිල්ලෙන්
දෙවිඳුන් වෙත යමු ඇදහිල්ලෙන්

සුව ලබනෙමු නිති ඇදහිල්ලෙන්
ජය අත් විඳිනෙමු ඇදහිල්ලෙන්
සවි දිරි ලබනෙමු ඇදහිල්ලෙන්
සමිඳුන් තුළ නිති ඇදහිල්ලෙන්

දෙව් දරුවන් ලෙස ඇදහිල්ලෙන්
දිවි ගෙවනෙමු අපි ඇදහිල්ලෙන්
කිතුහිමි තුළ නිති ඇදහිල්ලෙන්
ඉදිරියටම යමු ඇදහිල්ලෙන්

**කටපාඩම් කරමු.**
**හෙබ්‍රෙව් 11:1**

ක්‍රියාකාරකම

(01) ශුභාරංචි පොත්වල සඳහන් පරිදි ඇදහිල්ල තුළින් සුවය ලැබූ අයගේ ලැයිස්තුවක් පිළියෙල කරන්න.

# 15. අසීමිත කමාව

කිතුනුවන් වන අප දෙවියන් වහන්සේගෙන් ලබන විශේෂ වරප්‍රසාදයක් වන්නේ අපගේ පව්වලට උන්වහන්සේගෙන් ලබන කමාව යි. අපගේ පව්වලට දෙවියන් වහන්සේගෙන් කමාව ලැබීමට සපුරාලිය යුතු මූලික අවශ්‍යතාවයක් වන්නේ අප විසින් අන් අය වෙත කමාව දානය කිරීම යි. ඒ හැර අප විසින් අපගේ පාපය පිළිගැනීම, ඒ පිළිබඳ ව මනස්තාපනය වීම හා නැවත එම පාපය නොකිරීමට වග බලා ගැනීම වැදගත් වේ.

අප අපගේ පව් පිළිබඳ ව මනස්තාපනය වී නැවත උන්වහන්සේ වෙත හැරී එනතෙක් මග බලා සිටින ප්‍රේමණීය ජේසුස් වහන්සේ විසින් ම වදාළ මෙම කතා පුවත දැන් විමසා බලමු.




කතානායක: දෙව් රජය තුළ ගුණ දහම් පිරි දේව පුරවැසියන් සදන්නේ
දෙව් පියාගේ අසීමිත වූ කමාවේ බල අත් දකින්නේ

වැරදි කරමින් දෙව් පියාගේ ප්‍රේමයෙන් අහකට දුවන්නෝ
යළිත් ඒ ආදරය පතමින් කමාවේ දෙව් වෙතට එන්නෝ

දෑත් විහිදා බලා සිටිනා එතුම ප්‍රේමය අසීමිත වේ
තමා වෙත එන දරුන් පිළිගෙන කමාවෙන් සනසනා හිමිවේ

කමාවේ ගුණ ගැන කියන්නට ජේසුතුමි කී කතාවකි මේ
සවන් ඇත්තෝ සවන් දෙන්නේ කමාවේ බල වටහා ගන්නේ

පියකු හා පුතණුවෝ දෙදෙනෙක් වෙසෙති නිවසක ඒ ගමේ
ඔවුන්ගේ ජීවිත කතාවයි ගෙවුණු හැටි පවසමි සොදේ

බාලපුතා: තාත්තේ ඔබතුම් සතු වන - දේපොළ හා වස්තු වෙතින
කොටස මෙමට ඉන් හිමි වන - ලබා දෙන්න සිත් පෙමයෙන

කතානායක: *අසීමිත ආදරය දැක්වූ මේ පියා පුතු බස් අසා*
*දේපොළින් තම පුතුට හිමි වන කොටස දෙයි ඔහු හට ලියා*

*නොබෝ දිනකට පසුව මේ පුතු තමා හට හිමි දේ ලබා*
*පිට ව යයි දුර බැහැර රටකට ජීවිතේ ප්‍රීතිය සොයා*

බාල පුතා: නිදහස සතුටින් විදිමු - මුදලේ එල නිති ලබමු
මිතුරනි අපි එක්ව යමු - කැමති ලෙසින් දිවි ගෙවමු

කතානායක: *පියා හා තම නිවස අත හැර පුතා යයි මිතුරන් ද සමඟින්*
*තමා අත හැර පුතා ගිය කළ දින ගෙවන්නේ පියා කඳුලෙන්*

*දිනෙන් දින පාපයේ ගැලෙමින් දෙවි පියාණන් අතැර දමමින්*
*නොමග යන විට දේව දරුවන් කල් ගෙවයි හිමි කණස්සල්ලෙන්*

*තුටින් කා බී දවස් යවමින් බාල පුතු කල් ගෙවී සොඳිනේ*
*සියලු සම්පත් නිම වූ සැනෙකින් අඟහිඟයි ඔහු වෙලා ගන්නේ*

*නොසිතූ ලෙස සාගතයකුයි දැන් එරට ජනයා වෙත පැමිණුණේ*
*මුදල් සම්පත් කිසිත් නැත දැන් කෙලෙසදෝ පුතු දිවි ගෙවන්නේ*

බාල පුතා: මහතාණෙනි කරුණාවෙන් - මට අනුකම්පා කරමින්
අයදිමි මා ඔබ පිහිටෙන් - මට රැකියාවක් දෙන මෙන්

ගොවිපළ හිමියා: සත්ව ගොවිපලක් ඇත මට - එහි රැකියාවක් දෙන්නට
හැකි ය ඔබ ව එහි යවනට - එලෙස උදව්වක් කරනට

කතානායක: *සතුන් බලමින් එදා සිට ඔහු කල් යැවූයේ ගොවිපළේ*
*කුසගිනිත් ඔහු නිවා ගත්තේ සතුන් කන සැම අහරිනේ*

*කිසිවකුත් නැත දුන්නේ කිසිවක් ශෝකයෙන් දිවි ගතවුණේ*
*මිතුරනුත් නැත වන්න පිහිටක් තමා තනිව ම ලත වුණේ*

බාල පුතා:    සේවකයන්ටත් කෑම තිබෙන්නේ
ඕනෑ පමණට වඩා තිබෙන්නේ
පියාගේ ගෙදරට හනිකට යන්නේ
සාගින්නෙන් ඇයි කරදර  වෙන්නේ

දෙවිඳුට හා ඔබතුම හට එරෙහි ව
පව් කළෙමි මට සමාව දෙනවද
පුතා කියන්නට නොවටින මා අද
පිළිගත මැන ඔබ සේවකයකු ලෙස

කථානායක:  *හරි සිහිය ලැබ පසුතැවිලි වී  මෙසේ පවසන බව සිතා ගෙන*
*බාල පුතුයයි නැවත ගෙදරට  සිදුවු සැම ගැන දුකින් තැවෙමින*
*බාල පුතු දැක පියාගේ සිත  දයා පෙමයෙන් පිරෙන්නේ*
*නෙතග තුටු කඳුලින් පිරෙද්දී  ගෙළ වැළඳ පුතු සිඹින්නේ*

බාල පුතා:    දෙවිඳුට හා ඔබතුම හට එරෙහි ව
පියාණෙනී මම පව් කළෙමි
පුතා කියන්නට නොවටින මා අද
සේවකයකු සේ පිළිගනු මැනවී

කථානායක:    *කමා ලැබුමට දරුවන් එන තෙක්  බලා සිටිනා දෙව් පියා*
*කමාවෙන් පිරි නැවුම් දිවියක්  ඔවුන් වෙත ගෙන දෙයි සොයා*

*පසුතැවිලි වී යළි හැරී ආ  පුතු කමාවෙන් පිළිගනී*
*කමාවෙන් ඉතිරෙනා පෙමයෙන්  පුතු ලෙසින් ඔහු රැක ගනී*

පියා:    මෙහෙකරුවනි වහාම මෙහි එව්
හොඳම සළුව මා පුතුහට අඳවව්
වහන් දමා මුදුවක් ගෙන පළඳව්
උත්සවයට දැන් සූදානම් වෙව්

කා බී ප්‍රීති ප්‍රමෝද වන්නේ - පුතා මැරී දැන් ජීවත් වන්නේ
නැති වූ පුතු යළි සමු වී ඇත්තේ--මා නිවසට ඔහු පිළිගමු
සොඳිනේ

කථානායක:  *සමාජයෙහි පැවති සිරිතයි  මේ පියා දැන් ඉටු කරන්නේ*
*උසස් ලෙස පුතු පිළිගැනීමට  හොඳම සළුවයි අන්ඳවන්නේ*

*වහල් සේවකයකු නොවේ ඔහු  සිය පුතු ම බව වටහා දෙන්නේ*
*වහන් යුගළක් පළඳවා ඔහු  පා යුගළ ඉන් සරසවන්නේ*

*ඇඟිල්ලෙහි මුදුවක් දැමීමෙන් අහිමි වූ තැන යළි පුදන්නේ*
*බලය අධිකාරිත්වයයි ඒ මගින් දැන් පුතු හට ලැබෙන්නේ*

*පවුලේ වැඩිමල් පුතණුවන් ගොවිපළට ගොස් සිටි මේ වෙලේ*
*ඇසුණි නැටුනුත් ගැයුම් වැයුනුත් හනික ගෙට ළං වූ කළේ*

*ඇසුණු මේ නද කුමක්දැයි ඔහු හට වටහා ගන්නට නොහැක්කේ*
*අසල සිටි දාසයන්ගෙන් එක් කෙනකු ගෙන් මේ බව අසන්නේ*

වැඩිමල් පුතු: මා ගොවිපළට යන විට උදෑසන
සිදු වුණේ නැත කිසිත් මේ ලෙස
ගොවිපළේ මා සිටි අතර තුර
කුමක් සිදු වූයෙහි ද ගෙය තුළ

දාසයා: ඔබෙ සොයුරා යළි පැමිණ සිටින්නේ
ඔබටත් එය සතුටක් විය යුතුනේ
සුවසේ ඔහු ආපසු ආ බැවිනේ
ඔබේ පියා දැන් සොම්නස් වන්නේ

කතානායක: *උදහසින් පිරි වැඩිමහල් පුතු ගෙදර ඇතුළට වත් නොයන්නේ*
*පියා හා සතුටක් ලබන්නට නොමැත ඔහු සහභාගී වන්නේ*

*ගෙදර ඇතුළට නොඑන වැඩිමල් පුතුට හඬ ගැසුමට සිතන්නේ*
*පියා පිටතට ඇවිත් ඔහු හට ඇතුළු ගෙට එන්නට කියන්නේ*

*පියාගේ අයැදීම වෙත ඔහු නොමැත කිසි ලෙස සවන් දෙන්නේ*
*සොයුරු හට නිති කමා වෙන්නට කැමැත්තක් ඔහු තුළ නොමැත්තේ*

*වසර ගණනක් පියා සමඟින්දිවි ගෙවූව ද මේ පුතා*
*අසීමිත වූ කමාවේ ගුණ නොමැත අත්දැක නිසි ලෙසා*

වැඩිමහල් පුතු: මෙපමණ අවුරුදු ගණනාවක්
කළෙමි ඔබ හට කැපවීමක්
සේවය කළෙ ඔබට ම පමණක්
කඩ නොකළෙමි ඔබේ කිසිම අණක්

එසේ වුවත් මිතුරන් සමග - තුටු වන්නට ඉඩ නොදුනී ඔබ
එළු පැටවකු පමණවත් මට -නුදුන්නෙහි ය ඔබ කිසි දිනෙක

ඔබෙ අගනා මුළු වත්කම ම - නාස්ති කළ පුතු ආ විගස
උත්සව පැවැත්තුවේ ඔබ ය - මා උදෙසා කිසිවක් නොමැත

පියා: පුත ඔබ නිතරම මා සමගයි
මා සතු සියල්ල ඔබ සතු වෙයි
ඔබෙ සොයුරා මැරී ජීවත් වෙයි
අප සැම සොම්නස් විය යුතු ම යි.

කතානායක: *බාල පුතු හට කමාවේ දිවි දෙමින් පිළිගත් පියාණන් සේ*
*වැරදි කරනා අප වෙත ද නිති කමා කරනට ඒතුම යොමුවේ.*

*කළ වැරදි ගැන පසුතැවීම යි දේව දරුවන් හට ඔබින්නේ*
*නැවත නොකරන බව සිතා ගෙන දෙවි කමාවයි ලැබිය යුත්තේ*

*කමාවෙන් ජීවිතයේ වෙනසක් අත්දැකීමට හැකි ය දන්නෙමු*
*කමාවේ දිවි අයැදිමින් හිමිතුමන් වෙත නිති පා නගන්නෙමු*

*දෙවි පියාගේ අසීමිත වූ කමා ලැබුමට සැවොම එන්නේ*
*කමා කරමින් පවින් මිදුමට ඒතුම මග බලමින් සිටින්නේ*

*කිසිදු කොන්දේසියක් නැති දෙවි කමාවේ බල අත් දකින්නට*
*දෙවි පියා වෙත හනික යමු අපි වැරදි ගැන පසුතැවිලි වී අද*

*ඒ කමාවේ දිවිය ලබමින් අනුන් වරද ද කමා කෙරුමට*
*යොමු වෙමින් දෙවි සමිඳු සමඟින් එකතු වෙමු නව මගක යන්නට.*

**කටපාඩම් කරමු.**
**ශු. ලූක් 23:34**

ක්‍රියාකාරකම

(01) කමාවීම පිළිබඳ ස්වාමින් වහන්සේගේ යාච්ඤාවේ සඳහන් වන්නේ කුමක්දැ යි සොයා බලා ඔබේ අභ්‍යාස පොතේ සටහන් කරන්න.

(02) කමා වීම හා බැඳි පවතින කිතුනු ගුණාංග ලැයිස්තුවක් ලියා දක්වන්න.

# 16. නිරතුරු ව තුති පුදමු

**පාපයට කමාව, රෝග සඳහා සුවය ආදී අපගේ ජීවිතවලට සියලු ආශිර්වාද ලබා දෙන්නේ දෙවියන් වහන්සේ ම ය. අපි නිරන්තරයෙන් අපගේ අවශ්‍යතාවයන් වෙනුවෙන් දෙවියන් වහන්සේට යදින්නෙමු. ඒවා සුදුසු පරිදි ඉටුකර දෙන බව අප අත්දැකීමෙන් ම දන්නෙමු. නමුත් ඒ ආශිර්වාද ලද පසු ඒවා ලබා දුන්නේ දෙවියන් වහන්සේ බව සමහර අවස්ථාවල අමතක කර උන්වහන්සේට තුති පිදීම අතපසු කරන්නෙමු.**

**අප දෙවියන් වහන්සේගෙන් ලබන ආශිර්වාද සඳහා උන්වහන්සේට තුති පිදීමේ වැදගත්කම උන්වහන්සේ ම අවධාරණය කළ ආකාරය මෙම පාඩම තුළින් අත්දකිමු .**




අද දවසේ අප සියලු දෙනා ම සතුටින් විනෝදයෙන් කාලය ගත කළා. සුපුරුදු පරිදි පවුලේ සියලු දෙනා ම එක් වුණේ රාත්‍රී යාච්ඤා කාලය පැවැත්වීමට යි. අද ආච්චිත් සීයාත් අපේ ගෙදර ඇවිල්ලා.

ආච්චි: පුතා අද මට විශේෂ යාච්ඤාවක් කරන්න තියෙනවා.

දුව: ඔව් මා දන්නවා ආච්චි අම්මා අසනීප වෙලා කාලෙකින් අදනේ අපේ ගෙදරට ආවේ.

ආච්චි: මා පුතාලා දකින්න ආසාවෙන් බලාගෙන හිටියා.

පුතා: අපිත් ආච්චි අම්මා නැතිව හරිම පාළුවෙන් හිටියේ.

ආච්චි: අපට දෙවියන් වහන්සේ දෙන හැම දෙයක් ගැනම අප අමතක නොකර ස්තුති කරන්න අවශ්‍යයි.

දුව: ආච්චි අම්මාට ලැබුණු සුවය ගැන අද විශේෂයෙන් උන්වහන්සේට තුති පුදන්න පුළුවන්.

පුතා: අක්කේ, ආච්චි අම්මා, දෙවියන් වහන්සේට තුති කරන්න හරි ලස්සන ගීතිකාවක් හදලා.

තාත්තා: හොඳයි දරුවනේ අපි යාච්ඤා කාලය පටන් ගනිමු. අම්මා විශේෂ ගීතිකාව කියන්න අපි සියලු දෙනා ම යාච්ඤාවෙන් යුතු ව ඊට සවන් දෙමු.

*දෙවිඳුට තුති පුදමු සමිඳුට තුති පුදමු*
*සුවය සදන සහනය දෙන සමිඳුන් නම වණමු.*

*සරණක් නොමැති ව දුකින් පෙළෙද්දී රෝ දුක් පීඩා පැමිණෙද්දී*
*අප අත් නොහරින සුවය සදන සමිඳුට තුති පුදමු*

*දෙවිඳුට තුති පුදමු සමිඳුට තුති පුදමු*

පුතා: සීයා අපට අදත් බයිබල් කතාන්දරයක් කියා දෙනව ද?

සීයා: හොඳයි පුතේ, අද මා ලස්සන බයිබල් කතාවක් කියා දෙන්නම්. ඔන්න දවසක් ජේසුස් වහන්සේ ජෙරුසලම බලා යද්දී සමාරිය හා ගලීලය මැද්දෙන් ගමන් කළා. උන්වහන්සේ එක ගමකට ඇතුළු වුණාම ලාදුරු රෝගීන් දස දෙනෙක් උන්වහන්සේට හමු වුණා.

පුතා: කවුද සීයේ ලාදුරු රෝගීන් කියන්නේ ?

සීයා: ලාදුරු කියන්නේ ඒ කාලයේ ඉතා භයානක බෝවන රෝගයක් සම ආශ්‍රිතවයි හැදෙන්නේ. කෙනකුට ලාදුරු හැදුනම ඔහු පව්කාරයකු ලෙස සලකලා සමාජයට පිළිගත්තේ නැහැ. ඔවුන් ව වෙනම ස්ථානවලට යැව්වා. බොහෝ වෙලාවට පාළුකරයට, වනාන්තරගත ස්ථාන වලට පිටත් කළා. ඔවුන්ට එම ස්ථානවලින් පිටතට එන විට සීනුවක් නාද කරන්නට තිබුණා. එම සීනුව නාද කළ විට මේ එන්නේ ලාදුරු රෝගියකු බව දැන ගෙන හැම දෙනාම ඒ පාරෙන් ඉවත් වෙනවා.

දුව: ඒ ඇයි සීයේ ?

සීයා: ජුදෙව් ආගමේ නිතීවලට අනුව ලාදුරු හැදුණු රෝගියකු ස්පර්ශ කිරීමත් පාපයක්. කවුරු හරි එසේ කළොත් එය ස්පර්ශ කළ තැනැත්තා පූජකවරුන් ළගට ගිහින් පවිත්‍ර වීමේ වත් පිළිවෙත් ඉටු කරන්න අවශ්‍යයි.

පුතා: සීයේ, ලාදුරු රෝගීන්ට කොච්චර දුක හිතෙන්න ඇත් ද නේද?

.සීයා: ඔව් පුතේ, ඒ අයට දුක විතරක් නෙවෙයි. හැම දෙනාගෙන් ම අයින් වෙලා වනාන්තරවල ඉන්නකොට පාළුව, තනිකම, තදින් ම දැනෙන්න ඇති.

පුතා: ඉතින් ජේසුස් වහන්සෙයි, ශ්‍රාවකයනුයි මේ ලාදුරු රෝගීන් දහ දෙනා දැකලා පාරෙන් අයින් වුණේ නැද්ද සීයේ ?

සීයා: පුතේ, අසරණ රෝගීන්ට, මේ වගේ සමාජයෙන් කොන්වුණු අයට පිහිට වෙන එක ජේසුස් වහන්සේගේ සේවයේ කොටසක්. ඒ නිසා උන්වහන්සේ ඔවුන් ව පිළිගෙන ඔවුන්ට සවන් දුන්නා. කණ්ඩායමක් ලෙස ඇවිත් මේ ලාදුරු රෝගීන් දස දෙනා දුරින් සිට ජේසුස් වහන්සේට කිව්වා "ජේසුස් වහන්ස, ආචාරිණී, අපට කරුණා කරන්න" කියා. හරිම පුදුමයි උන්වහන්සේ කිසිම දෙයක් කළේ නැහැ ඔවුන් දස දෙනාට කිව්වා "ගිහින් ඔබේ පූජකවරුන් ඉදිරියේ පෙනී සිටින්න කියා.



16.1 රූපය - ජේසුස් වහන්සේ ලාදුරු රෝගීන් සුව කිරීම

දුවා: ඇයි සීයේ ජේසුස් වහන්සේ එහෙම කිව්වේ ?

සීයා: ලාදුරු රෝගියෙක් සුව වුණා ම ජුදෙව් නීතියේ ආකාරයට පූජක වරුන් ඉදිරියේ පෙනී සිට සහතිකයක් ලබා ගත යුතු වුණා.

පුතා: ඉතින් සීයේ මේ දස දෙනා ම සුව වුණා ද?

සීයා: ඔව් මේ අය යද්දී මග දී ම සුව වුණා. එක් කෙනෙක් පමණක් තමා සුව වූ බව දැක ආපසු හැරී ඇවිත් ජේසුස් වහන්සේගේ පාමුල වැටිලා මහ හඬින් දෙවියන් වහන්සේට ගෞරව කරමින් ස්තුති කළා. ඔහු සමාරීය ජාතිකයෙක්. ඒ කාලයේ ජුදෙව්වන් සමාරිතයන්ව කොන් කළා.

පුතා: සීයේ, ජේසුස් වහන්සේත් ජුදෙව්වෙක් නේද?

සීයා: ඔව් පුතේ, ඒත් උන්වහන්සේ හැම දෙනාට ම එක විදිහට සැලකුවා. සේවය කළා. ජුදෙව්වන්ටත් වෙනත් ජාතීන්ටත් එක ලෙසම කරුණාව දැක්වූවා. ජේසුස් වහන්සේ සමාරීය ජාතික ලාදුරු රෝගියාගෙන් ඇසුවා. "දහ දෙනෙක් ම සුව වුණා නේද? කෝ අනෙක් නව දෙනා ? කියා. මේ ලාදුරු රෝගීන් කණ්ඩායමක් ලෙස පැමිණ සාමූහික ව සුවය ඉල්ලුවත්, උන්වහන්සේගෙන් සුවය බලාපොරොත්තු වුණත්, සුව වුණාට පස්සේ දෙවියන් වහන්සේට ස්තුති කරන්න හැරී ආවේ එක්කෙනයි. ඔහුත් සමාරීය ජාතිකයෙක්. ඒ සමාරීය ජාතිකයා ව ජේසුස් වහන්සේ බොහෝ අගය කළා. ඒ වගේම අනෙක් නව දෙනා නොපැමිණීම ගැන උන්වහන්සේට දුක හිතෙන්නට ඇති. උන්වහන්සේ සමාරීය ජාතික ලාදුරු රෝගියාට කීවා 'යන්න ඔබේ ඇදහිල්ල ඔබ සුව කළා' කියා.

දුව: සීයේ ඔවුන් ගිහින් පූජක වරුන් ඉදිරියේ පෙනී සිටියා ද?

සීයා: ඔව්. ඔවුන් එම පිළිවෙත ඉටු කරන්නට ඇති. ඒ වගේම තම නිවෙස් වලට ගිහින් තමා ලැබූ සුවය ගැන ප්‍රීතියෙන් සාක්ෂි දරන්නට ඇති. ආපසු සමාජයට එන්නට ලැබීම ගැන ජේසුස් වහන්සේ වෙතින් තමා ලද නව අත්දැකීම ගැන ඔවුන්ට කෙතරම් සතුටක් තියෙන්න ඇති ද? හැබැයි පුතේ අර ඉතිරි නව දෙනාත් ඇවිල්ලා තමා ලද සුවය ගැන දෙවියන් වහන්සේට ස්තුති කළා නම් කෙතරම් හොඳ ද?

පුතා: ඔව් සීයේ අප නම් තනි තනිවමත්, පවුලක් විදිහටත් එකතු වෙලා දෙවියන් වහන්සේට ස්තුති කරනවා.

සීයා: ඔව්, බොහොම හොඳයි පුතේ දෙවියන් වහන්සේගෙන් අප ලබන අප්‍රමාණ ආශිර්වාද ගැන අප දේව දරුවන් ලෙස අමතක නොකර දෙවියන් වහන්සේට ස්තුති කළ යුතු යි. ඒ වගේ ම අනෙක් අය අපට කරන උපකාරවල දී ඔවුන්ටත් අප ස්තුති කළ යුතු යි.

දුව: අද කාලෙත් ලාදුරු හැදෙනව ද?

තාත්තා ඔව් දුව, හැබැයි ලාදුරු කියන්නේ අද ඉතා පහසුවෙන් සුව කිරීමට හැකි රෝගයක්. අද වෛද්‍ය විද්‍යාව ඉතා දියුණුයි. ඒ වගේ රෝගවලට බෙහෙත් සොයාගෙන තියෙනවා. අපේ රටේ හැඳල ප්‍රදේශයේ ලාදුරු රෝගීන් සඳහා රෝහලකුත් පිහිටා තියෙනවා. එවැනි යහපත් සෞඛ්‍ය සේවාවන් ගැනත් අප දෙවියන් වහන්සේට ස්තුති කරමින් ප්‍රශංසා කළ යුතුයි.

අම්මා: එහෙනම් දැන් අපි යාච්ඤා කරමින් දෙවියන් වහන්සේට ස්තුති කරමු.

ආච්චි: ඔව්. අපි දැන් දෙනෙත් වසාගෙන නිශ්චල ව දෙවියන් වහන්සේගේ පාද පාමුලට යමු. අපි කළ සියලු වැරදි ගැන පසුතැවිලි වෙමින් උන්වහන්සේගෙන් කමාව අයදිමු. අපි ලැබූ සියලු ආසිරි ගැන උන්වහන්සේට තුති පුදමු.

සීයා: ආදර වන්ත දෙවිඳුනි, මේ අනගි දවස ගැන අපි ඔබ වහන්සේට තුති පුදමු. අප සිතින්, වදනින් හා ක්‍රියාවෙන් කළ වරදට අපට කමාව ලබා දුන මැනව. සුවය ලැබූ ලාදුරු රෝගීන් මෙන් ඇදහිල්ලෙන් දිවි ගෙවන්නටත් සැම විට ම අපගේ ජීවිත ඔබවහන්සේට ම තුති පූජාවක් ලෙස පුද දෙන්නටත් අපට වරම් දුන මැනව. සියළු ගෞරවය, මහිමය සදහට ම ඔබවහන්සේට ම වේවා.

තාත්තා: දැන් අපි අපගේ පවුලේ යාච්ඤාව වන ජේසුස් වහන්සේ ම අපට ඉගැන්වූ යැදුම එක්ව කියමු.

**කටපාඩම් කරමු.**

**ගීතාවලිය 106:1**

ක්‍රියාකාරකම:

1. ඔබේ ජීවිතයේ දෙවියන් වහන්සේට විශේෂයෙන් ස්තුති කළ අවස්ථා 5 ක් ලියා දක්වන්න.

2. දෙවියන් වහන්සේට තුති පිදීම පිළිබඳ දැක්වෙන පහත සඳහන් ශුද්ධ ලියවිලි පාඨ අභ්‍යාස පොතේ ලියා ඉන් ඔබ වඩාත් කැමති පාඨය කටපාඩම් කරන්න.
ගීතාවලිය 75:1, 136:1, 145:2, කොළොස්සි 3:17

# 17. නිහතමානී වෙමු

**කිතුනු දරුවන් ලෙස අප තුළ පැවතිය යුතු යහපත් ගුණාංග කිහිපයක් පසුගිය පාඩම්වල දී හඳුනා ගැනීමට අපි උත්සහ කළෙමු. ඒ දෙවියන් වහන්සේ කෙරෙහි අප විසින් පවත්වා ගත යුතු ඇදහිල්ල, කිතුනු අප තුළ පැවතිය යුතු ප්‍රේමය, කමාව හා අප ලබන ආසිරි වෙනුවෙන් තුති පිදීම වේ.**

**මෙම පාඩමෙන් අප අත් දකින්නට උත්සහ කරන්නේ කිතුනු අනුගාමිකයකු ලෙස පැවතිය යුතු ජේසුස් වහන්සේ විසින් ම අවධාරණය කළ නිහතමානී වීමේ කිතුනු ගුණාංගයේ වැදගත්කම ය.**

එක් ගවේෂණ කණ්ඩායමක් රථයක නැගී වනාන්තර පාරක ගමන් කළේ ය. රථය වේගයෙන් ඉදිරියට ඇදුන ද එකවර ම රථය නතර කිරීමට ඔවුන්ට සිදු විය. පාර හරහා විශාල ගසක් වැටී තිබුණි. එතැනින් කිසිවකුට යාමට හැකියාවක් නොලැබිණ. මෙය කපා ඉවත් කිරීමට ඔවුන් ළඟ උපකරණ ද නොතිබුණි. ගවේෂණ කණ්ඩායමේ නායකයා එම ගස කෙසේ හෝ කපා ඉවත් කර, පාරේ ගමනාගමනයට ඉඩ සලසන ලෙසට කෑගසමින් නියෝග කළේ ය. ගස ඔසවා ඉවත් කරන්නට ගවේෂණ නිළධාරීන් උත්සාහ කරමින් සිටිය ද ගවේෂණ කණ්ඩායමේ නායකයා රථයේ වාඩි වී ඒ දෙස බලා සිටියේ ය. ඔහු කිසි උදව්වක් දෙන්නට ඉදිරිපත් නොවී ය. එවිට ම අසකු පිට නැගී යන කෙනෙක් ඒ අසලට පැමිණියේ ය. ඔහු දුටු ගවේෂණ කණ්ඩායමේ නායකයා, ඔහුට ද අශ්වයාගෙන් බැස තම ගවේෂණ නිළධාරීන්ට උපකාර කරන ලෙසට කෑගසමින් නියෝග කළේ ය. එවිට මුවින් කිසි වදනක් පිට නොකළ ඒ පුද්ගලයා අසු පිටින් බැස වහා ම ගොස් ගවේෂණ නිළධාරීන්ට උපකාර කළේ ය. එකමුතු ව ඔවුහු ඒ විශාල කඳ ඔසවා පාරෙන් ඉවත් කළ හ. එසැනෙන් ම උපකාර කළ පුද්ගලයා අශ්වයා පිට නැගී ගමන් කිරීම ඇරඹී ය. එවිට ම තවත් අසරුවෝ කීප දෙනෙක් පැමිණ එම පුද්ගලයා පිටුපස මහත් ගෞරවයකින් මෙන් ගමන් කරන්ට පටන් ගත් හ. ගවේෂණ කණ්ඩායමේ නායකයාට මෙය විශාල ප්‍රශ්නයක් විය. ඔහු වහා ම තම නිළධාරියෙක් යවමින් එක් අශ්වාරෝහකයකුගෙන් ඒ තමන් හට උපකාර කළ පුද්ගලයා කව්දැ යි විමසනු ලැබී ය. ඔවුන්ට එසේ උපකාර කරනු ලැබුවේ ඒ රටේ රජතුමා බව එම අශ්වාරෝහකයා පැවසී ය.

මෙය ඇසූ විට ගවේෂණ කණ්ඩායමේ නායකයාට බියක් හා ලැජ්ජාවක් දැනෙන්නට විය. ඔහුට කතා කරගත නොහැකි විය. ඔහුගේ මුහුණේ ඉරියව් පවා වෙනස් විය. රජතුමාට තිබූ නිහතමානීකම ගවේෂණ කණ්ඩායමේ නායකයා තුළ නොතිබුණි.

## නිහතමානීකම

**කිතුනුවන් විසින් තම ජීවිත තුළින් එළි දැක්විය යුතු වැදගත්ම ගුණාංගයකි.**

එය ජේසුස් වහන්සේ විසින් ද ආදර්ශයෙන් ම ගෙනහැර දැක්වූ ඉතා වටිනා ගුණාංගයක් හා චරිත ලක්ෂණයකි. ජේසුස් වහන්සේ ශ්‍රාවකයන්ගේ පාද සේදීමෙන් තම නිහතමානීකම පෙන්නුම් කළ සේක.

එහෙත් උන්වහන්සේ ජීවත් වූ සමාජයේ සිටි ඇතැම් අය තමා ධර්මිෂ්ට යැයි සිතා අන් අය හෙළා දැක්කා හ. පරිසිවරුන් වැනි ආගමික කණ්ඩායම් පවා ඒ සඳහා යොමු වූ බව දේව වචනය තුළින් පැහැදිලි වේ. විශේෂයෙන් ම අයකැමියන්, පව්කාර ස්ත්‍රීන්, අන්‍ය ජාතීන්, රෝගීන් වැනි අය එදා සමාජයෙන් ප්‍රතික්ෂේප වූ කණ්ඩායම් විය. අයකැමියන් වැනි අයට දේව මාළිගයේ නමස්කාරය පවා තහනම් විය. එහෙත් ඔවුහු හැකි සෑම විට ම ජේසුස් වහන්සේ වටා එක් රැස් වූහ. උන්වහන්සේ ඔවුන් පිළිගත් සේක. ඔවුන් සැමට ම දයානුකම්පාව දැක්වූ සේක.

තමන් ධර්මිෂ්ඨ යැයි සිතමින් උඩගු වීම දෙවියන් වහන්සේ ප්‍රතික්ෂේප කරන බව ද තම පව් ගැන මනස්ථාපනය වෙමින් කළ කන්නලව්ව උන්වහන්සේ පිළිගන්න බව ද කියා දීමට ජේසුස් වහන්සේ පැවසූ පරිසිවරයා සහ අයකැමියා පිළිබඳ උපමා කතාව කදිම නිදසුනකි.



එම උපමාවට අනුව,

*යාච්ඤා කිරීමට දේව මාලිගාවට යන මිනිසුන් දෙදෙනා.*

ආගමික නායකයෙකි → එක් අයෙක් පරිසිවරයෙකි

↑ ඔහුගේ යැදුම තමා ගැන වර්ණනා කර ගන්නා උඩඟුකමේ යැදුමකි.

රෝම අධිරාජ්‍යයා වෙනුවෙන් බදු අය කරන කෙනෙකි. → අනෙක් තැනැත්තා අයකැමියෙකි

↑ ඔහුගේ යැදුම තම පව්කාරකම හා නොවටිනාකම දෙවියන් වහන්සේ ඉදිරියේ ගෙනහැර දක්වන යැදුමකි.

**ජේසුස් වහන්සේ පැවසූ පරිදි දේව සබඳතාව ලබා ගෙදර ගියේ කවරෙක් ද?**
පරිසිවරයා ද ? අයකැමියා ද ? - **පරිසිවරයා නොව අයකැමියා ය.**

තමා ම උසස් කරගන්නා, හැම දෙනා ම පහත් කරනු ලැබේ.
මෙම උපමාවට අනුව තමා ම උසස් කරගත්තේ කවරෙක් ද ?
**පරිසිවරයා යි**




**ඒ කෙසේ ද ?**

**මා අන් මිනිසුන් මෙන්, වස්තුවට ආශා කරන, වංචනික, අයහපත් කෙනකු නොවන බව ඔහු පැවසී ය.**

එලෙස ම,

- "මම මේ අයකැමියා වැන්නෙක් නොවෙමි යි' ද
- සතියකට දෙවරක් උපවාස කරන බව ද
- උපයන දෙයින් දහයෙන් කොටස දෙන බව ද පවසමින්,
  - ඔහු දෙවියන් වහන්සේ ඉදිරියේ තමා උසස් කර ගත්තේ ය
  - තමාගේ ධර්මිෂ්ඨකම තමා ම ප්‍රකාශ කර ගත්තේ ය
  - අන් අය හෙළා දැක්කේ ය.

තමා ම පහත් කර ගන්නා, උසස් කරනු ලැබේ
මෙම උපමාවේ තමා ම පහත් කර ගත්තේ කවරෙක් ද ?
**අයකැමියා ය**




**ඒ කෙසේ ද ?**

❊ ඔහු දේව මාලිගයේ ඈතින් සිට ගත්තේ ය
❊ ස්වර්ගය දෙස ඇස් ඔසවා බලන්නට වත් නො සිතුවේ ය
❊ තමාගේ පපුවට ගසා ගත්තේ ය.

එලෙස ම,
'දෙවියන් වහන්ස පව්කාර වූ මා හට කරුණා කළ මැනව' යි බැගෑපත් ව ආයාචනා කළේ ය. මෙසේ අයකැමියා,

වේදනාවෙන්
ලැජ්ජාවෙන්
බයාදුකමින්
පසුතැවීමෙන්
තමාව පහත් කර ගනිමින්
යටහත් පහත් බවින්

දෙවියන් වහන්සේ ඉදිරියේ සිටියේ ය. දෙවියන් වහන්සේ ඔහුගේ නිහතමානී බව නිසා ඔහුගේ අයැදුම පිළිගත් සේක.

*තමා පමණක් ධර්මිෂ්ඨ හා නිවැරදි බව සිතීම*
*තමාගේ හැකියාවන් ගැන වර්ණනා කිරීම*
*තමාට ඇති දේ ගැන උදම් ඇනීම*
*අන් අය හෙළා දැකීම*
*අන් අයගේ වැරදි ප්‍රසිද්ධියේ කියා ඔවුන්ට නින්දා කිරීම*

**සැ ම වි ට ම**

දේව දරුවන්ට නුසුදුසු යි.

ඒ වෙනුවට සැමවිට ම
*සිතුවිලිවලින්*
*කතා කරන වදන්වලින්*
*ක්‍රියාවෙන්*

**නි හ ත මා නී වීමට**

අපි උත්සාහ කරමු.

**දෙවියන්වහන්සේ ඉදිරියේ අපගේ යැදුම්වල දී,**

- ❊ අපි පසුතැවිලි වූ හදකින් උන්වහන්සේ වෙත ළඟා වෙමු
- ❊ අපි කළ වැරදි සිහි කරමින් උන්වහන්සේගෙන් සමාව ලබමු
- ❊ උන්වහන්සේ පමණක් දැහැමි බව මතක තබා ගනිමින් එම දැහැමි බව අප ජීවිතවලට ද අයැද සිටිමු
- ❊ දෙවියන් වහන්සේ සමග නියම සබඳතාවයට අපි පත් වෙමු
- ❊ උන්වහන්සේගේ දයානුකම්පාවට අපි භාර වෙමු.

**එසේ කළහොත්,**
**අපගේ නිහතමානි යැදුම්වලට දෙවියන් වහන්සේ ප්‍රසන්න වන සේක.**

ජේසුස් වහන්සේ පැවසූ එම උපමාව මගින් අප ජීවිත සඳහා

පරිසිවරයාගෙන් ඉගෙන ගත හැකි පාඩම්
අයකැමියාගෙන් ඉගෙන ගත හැකි පාඩම්
ඔබට සටහන් කළ හැකි දැයි බලන්න.

එසේ ඉගෙන ගන්නා පාඩම් මගින්,

- ❊ නිවසේ දී කිතුනු දරුවකු ලෙස නිහතමානී වීමට
- ❊ පාසලේ දී කිතුනු දරුවකු ලෙස නිහතමානී වීමට
- ❊ සමාජයේ දී කිතුනු පුරවැසියකු ලෙස නිහතමානී වීමට

ඔබට හැකියාව ලැබේ. නිහතමානීකම දුර්වලකමක් සේ නොසිතිය යුතු ය. අප නිහතමානි වෙමින් ම අසත්‍ය හා වංචාව ඉදිරියේ ශක්තිමත් ව නැගී සිටිය යුතු ය.

නිහතමානීකම දෙවියන් වහන්සේගේ දරුවන්ට අත්‍යවශ්‍ය ම ගුණාංගයක් ලෙස සිතා සැමවිට ම නිහතමානී වීමට අද දවසේ පටන් උත්සාහ කරන්න. දෙවියන් වහන්සේ ඔබට උපකාර කරනු නොඅනුමාන ය.

කටපාඩම් කරමු.
ශු. ජොහාන් 13:14

ක්‍රියාකාරකම

1. දෙවිඳුන් ඉදිරියේ ඔබ නිහතමානී ව කරන යැදුමක් ලියා දක්වන්න.

2 පාසල් සිසුවකු ලෙස ඔබ,
දෙමාපියන් හා වැඩිහිටියන් ඉදිරියේ,
ගුරුවරුන් ඉදිරියේ,
මිතුරන් ඉදිරියේ,
නිහතමානී ව කටයුතු කරන ආකාර එක බැගින් ඉදිරිපත් කරන්න.

# 18. ශුද්ධ බයිබලය



18:1 රූපය - ශුද්ධ බයිබලය

ශුද්ධ බයිබලය කිතුනු අපගේ පූජනීය ග්‍රන්ථය යි. චිත්‍රයේ දැක්වෙන ලෙස ශුද්ධ බයිබලය අතීතයේ දී එකම ග්‍රන්ථයක් සේ සකස් වී නොතිබුණි. වර්තමානයේ ශුද්ධ බයිබලයේ පිටපත් ගණනාවක් අප අතට පත් වී ඇත. දෙවියන් වහන්සේ තෝරාගත් ඉශ්‍රායෙල් ජනතාවගේ ඉතිහාසය ඔවුන්ගේ ජීවිත ගමන තුළ ලත් අත්දැකීම් හා සම්බන්ධ තොරතුරු රාශියක් පළමුව ආරක්ෂා වූයේ ඔවුන්ගේ ජන කොටස තුළ වාචිකව ය. මෙසේ පරපුරෙන් පරපුරට කට වචනයෙන් දායාද වී ඒවා ලේඛන ගත කරන ලද්දේ අවුරුදු 1200 ක පමණ කාල පරිච්ඡේදයක් තුළ ය. ශුද්ධ බයිබලයේ අන්තර්ගත ව ඇති සියල්ල දේව වචනය බව පිළිගනිමු. එහි ප්‍රධාන කර්තෘ ද දෙවියන් වහන්සේ ය. උන්වහන්සේගේ ආනුභාවය තුළින් එය ලියන ලද්දේ මිනිස් කතුවරු විසිනි. පළමුවෙන් ම දේව වචනය ලියවුණේ 'පැපිරස්' නම් කොළවලින් සාදාගත් "ස්ක්‍රෝල්" නමින් ව්‍යවහාර කළ හැකුළුම් පත්වල ය. සතුන්ගේ හම් හා ගල් පුවරුවල ලියැවුණු ශුද්ධ ලියවිලි ආරක්ෂා කර ගැනීමට එකළ විවිධ ක්‍රම යෙදූහ. මුලින් ම හෙබ්‍රෙව් භාෂාවෙන් ලියැවුණු ශුද්ධ ලියවිලි පසුව ග්‍රීක හා භාෂා ගණනාවකට පරිවර්තනය වී ඇත.

**බයිබලය** යන වචනය බිඳී ආවේ '**බිබ්ලියොත්**' යන ග්‍රීක වචනයෙනි. එහි අර්ථය පොත් ගණනාවක එකතුවක් යන්නයි. පොත් ගණනාවක් ඇතුළත් ශුද්ධ බයිබලය පුස්තකාලයක් ලෙස ද අපට පිළිගත හැකි ය.


18 රූපය - ස්ක්‍රෝල් පත්

කතුවරු ගණනාවක් විසින් සම්පාදිත වූ මෙම උතුම් ග්‍රන්ථයෙහි ඉතිහාස කතා, නීති මාලා, රාජ්‍ය පාලනය, දිවැසිවර ප්‍රකාශන, පැවති විශ්වාස, සාහිත්‍යය, දේව අවවාද අනුශාසනා ඇතුළත් ය.

ශුද්ධ බයිබලය කොටස් (කාණ්ඩ) දෙකකින් යුක්ත වේ. ඒවා නම් පුරාණ ගිවිසුම හා නව ගිවිසුම ය. දෙවියන් වහන්සේ විසින් විශ්වය මැවීමේ පුවතින් ඇරඹෙන තොරතුරු පුරාණ ගිවිසුමෙහි විස්තරාත්මක ව ලියැ වී ඇත.

නව ගිවිසුමෙහි, ක්‍රිස්තුස් වහන්සේගේ උපත, උන්වහන්සේ පිළිගැන්වූ ශුභාරංචි සේවය හා මුල් සභා ඉතිහාසය පැහැදිලි ව ලියැවී ඇත. එම නිසා දේව වචනය අපට අනාවරණය කරන ශුද්ධ බයිබලය අපගේ උතුම් ම එකම පූජනීය ග්‍රන්ථය ලෙස ගෞරවාදරයට පත් විය යුතු වේ.

හෙබ්‍රෙව් බසින් පළමුවෙන් ම ලියැවුණ පුරාණ ගිවිසුම ග්‍රීක භාෂාවට පරිවර්තනය විය. ජේසුස් වහන්සේගේ කාලයට පසු නව ගිවිසුම ලියන ලද්දේ ග්‍රීක බසිනි. ඊට හේතුව පලස්තීන දේශය රෝම අධිරාජ්‍යයට යටත් ව තිබූ නිසා ග්‍රීක භාෂාව ප්‍රචලිත ව පැවතීම ය. මුද්‍රණ යන්ත්‍රය සොයා ගැනීමෙන් අනතුරු ව එකම ග්‍රන්ථයක් ලෙස ශුද්ධ බයිබලය අප අතට පත් වී ඇත. ලෝකවාසි, විවිධ භාෂා කතා කරන ජනතාවට ස්ව භාෂාවලින් ම බයිබලය කියවීමට අවස්ථාව උදා වූයේ සීග්‍රයෙන් පරිවර්තන ක්‍රියාවලිය සිදු වූ නිසා ය. අද ලෝකයේ වැඩි වශයෙන් ම පරිවර්තනය වී ඇති ග්‍රන්ථය ශුද්ධ බයිබලය බව පිළිගැනේ.

**අපි දැන් ශුද්ධ බයිබලයේ ග්‍රන්ථ සැකසුම වෙත යොමු වෙමු.**

කාණ්ඩ දෙකකින් යුත් බයිබලයෙ හි **පුරාණ ගිවිසුම** පොත් **තිස් නවයකින්** ද **නව ගිවිසුම** පොත් **විසි හතකින්** ද සමන්විත ය. පුරාණ ගිවිසුමෙහි මුල් පොත් පහ පංච පුස්තකය ලෙස හැඳින් වේ. මෙහි ඉශ්‍රායෙල් ඉතිහාසය හා එම ජනතාව ලත් ජුදෙව් ව්‍යවස්ථාව (නීතිය) ඇතුළත් වේ. දෙවන පොත වන 'නික්මයාම' යන්නෙහි මිසර දේශයෙහි පදිංචිව එහි දී වහල්කමට පත් වූ ඉශ්‍රායෙල් ජනතාව, නිදහස කරා ගිය ගමන සවිස්තර ව ලියැ වී ඇත. දිවැසාවලියට අයත් ලියවිලි තුළින් දෙවියන් වහන්සේ විවිධ අවස්ථාවන් හි දිවැසිවරු කැඳවා ජනතාවට දුන් දේව පණිවුඩ සඳහන් වේ. ඓතිහාසික තොරතුරු හා සාහිත්‍ය ශෛලීන් ලියවිලි පොත් කාණ්ඩයට ඇතුළත් වන අතර, දානියෙල් ලත් අනාවරණයන් ද මෙහි සඳහන් වේ.




18:3 රූපය - ශුද්ධ බයිබලය

නව ගිවිසුමට අයත් මුල් පොත් සතර ශුභාරංචි පොත් ලෙස හැඳින් වේ. ශුභාරංචි පොත්වල අඩංගු වන්නේ, ජේසුස් වහන්සේගේ ජීවිතය පිළිබඳ තොරතුරු, ජනතාවට කළ සේවය, දුක් විඳීම, මරණය උත්ථානය හා සබැඳි කිතුනු අනුගාමිකයන් දත යුතු වටිනා තොරතුරු ය. ඉන් අනතුරු ව ඇති ක්‍රියා පොත මුල් කිතුනු සභාවේ ඉතිහාසය ද සන්දේශ හෙවත් හසුන්පත් යනුවෙන් හඳුන්වන ලිපිවල සභාවලට අවවාද අනුශාසනා ද ඉදිරිපත් කර ඇත. මේවායින් වැඩි කොටසක් පාවුළුතුමා ලියා ඇති අතර, අද පවා කිතුනු සභාවන්ට හා අපට ද අගනා උපදෙස් හා මග පෙන්වීම් ඒවායින් ලබාගත හැකි ය. ජේසුස් වහන්සේගේ ලොව පහළ වීම පිළිබඳ අනාවැකි, පුරාණ ගිවිසුමේ දිවැසිවර ප්‍රකාශන මගින් අනාවරණය වේ. උන්වහන්සේ පුරාණ ගිවිසුමේ ශුද්ධ ලියවිලි අධ්‍යයනය කළ සේක. නාසරෙත්හි පළමු දේශනයට උන්වහන්සේ තෝරා ගත්තේ යෙසායා දිවැසිවරයාගේ ග්‍රන්ථයෙනි. ජුදෙව් ව්‍යවස්ථාව මනාව දැන සිටි ජේසුස් වහන්සේ ජුදෙව් ආගමික නායකයින් හමුවෙහි ප්‍රකාශ කළේ උන්වහන්සේ ව්‍යවස්ථාව සම්පූර්ණ කරන්නට වැඩිය බව ය. ජේසුස් වහන්සේ මුහුණ දුන් පරීක්ෂාවලට ප්‍රතිචාර දැක්වීමට යොදා ගනු ලැබුවේ ද පුරාණ ගිවිසුමේ ශුද්ධ ලියවිලි ය.

මේ අනුව බලන කළ එදා ජේසුස් වහන්සේට මෙන්, කිතුනු අනුගාමිකයන්ට ශුද්ධ බයිබලය වටිනා පූජනීය ග්‍රන්ථය වේ. එහි ලියැවී ඇති දේව වචනය කුඩා කල පටන් කියවීමටත් නිසි ලෙස වටහා ගැනීමටත් උත්සාහ කළ යුතු ය. අපගේ ජීවිතයට නිවැරදි, යහපත් දේ හඳුනා ගැනීමට ඉන් මග පෙන්වීම ලැබේ. දේව දරුකම ලොවට හුවා දැක්වීමට ඉන් ලැබෙන ධෛර්යය හා ශක්තිය වචනයෙන් කියා නිම කළ නොහැක.

# ශුද්ධ බයිබලය

## පුරාණ ගිවිසුම

### නීති පොත්

1. උත්පත්ති
2. නික්මයාම
3. ලෙවී ව්‍යවස්ථාව
4. ගණන් කතාව
5. ද්විතිය නීති සංග්‍රහය

### දිවැසාවලිය

#### පෙර

1. ජොෂුවා
2. විනිශ්චයකාරයෝ
3. I සාමුවෙල්
4. II සාමුවෙල්
5. I රාජාවලිය
6. II රාජාවලිය

#### පසු

##### ප්‍රධාන

1. යෙසායා
2. ජෙරමියා
3. එසකියෙල්

##### සුළු

1. හොසියා
2. ජෝවෙල්
3. ආමොස්
4. ඔබදියා
5. ජෝනා
6. මීකා
7. නාහුම්
8. හබකුක්
9. ශෙපනියා
10. හග්ගයි
11. සෙකරියා
12. මලාකි

### ලියවිලි

#### සාහිත්‍ය

1. රූත්
2. එස්තර්
3. ගීතාවලිය
4 ජෝබ්
5. හිතෝපදේශ
6. ප්‍රේම ගී
7. ධර්මෝපදේශකයා
8. විලාප ගී

#### ඉතිහාසය

1. i වංශාවලිය
2. ii වංශාවලිය
3. එස්රා
4. නෙහෙමියා

#### අනාවරණ සාහිත්‍ය

1. දානියෙල්

## නව ගිවිසුම

### සුභාරංචි

1. මතෙව්
2. මාර්ක්
3. ලූක්
4. ජොහාන්

### ඉතිහාස

1. ක්‍රියා පොත

### සාහිත්‍ය

#### ජොහාන්තුමාට එළිදරව් වූ දර්ශනය

### හසුන්

#### පාවුල්තුමාගේ ලිපි

1. රෝම
2. i කොරින්ති
3. ii කොරින්ති
4. ගලාති
5. එපිස
6. පිලිප්පි
7. කොළොස්සි
8. i තෙසලෝනික
9. ii තෙසලෝනික
10. i තිමෝති
11. ii තිමෝති
12. තීතස්
13. පිලෙමොන්

#### සාමාන්‍ය හසුන්

##### වෙනත් ලිපි

1. හෙබ්‍රෙව්
2. ජාකොබ්
3. i පේදුරු
4. ii පේදුරු
5. i ජොහාන්
6. ii ජොහාන්
7. iii ජොහාන්
8. ජූද්

**කටපාඩම් කරමු.**
**ගීතාවලිය 119:89**

ක්‍රියාකාරකම:

1. පංච පුස්තකය අයත් පොත් 5 සහ ශුභාරංචි හතරේ නම් ඔබේ සටහන් පොතේ ලියා කට පාඩම් කරන්න.

2. ශුද්ධ බයිබල් සැකැස්ම (දී ඇති සටහන) පංතියේ ප්‍රදර්ශනය කිරීමට විශාල පරිමාණයෙන් නිර්මාණය කර ඉදිරිපත් කරන්න. කණ්ඩායම්වලට බෙදී විවිධ අංශ ලියා පාට කර දක්වන්න.

# 19. දෙව් වදනින් මග පෙන්වීම

**පසුගිය පාඩමෙහි ශුද්ධ බයිබලය කිතුනු අපගේ පූජනීය ග්‍රන්ථය ලෙස හඳුනා ගතිමු. එහි සැකැස්ම පිළිබඳ ව ද ඔබ අවබෝධයක් ලැබූ බව නිසැක ය. ශුද්ධ බයිබලය හුදෙක් ඓතිහාසික ග්‍රන්ථයක් ලෙස පමණක් සැලකිය යුතු නොවේ. එහි අන්තර්ගත දේව වචනය අපගේ ජීවිත ආලෝකවත් කරමින් අපට නිසි මග පෙන්වීම ලබා දෙයි.**

**මුළු ශුද්ධ බයිබලයෙන් ම සිදු වන්නේ කිතුනු අපගේ ජීවිත යහ පැවැත්මට මග පෙන්වීමකි. නමුත් එය සංක්ෂිප්ත ව ඉදිරිපත් කිරීමේ අවශ්‍යතාව සලකා පරණ ගිවිසුමෙන්, දෙවියන් වහන්සේ මෝසෙස්තුමා මගින් ලබා දුන් ව්‍යවස්ථාව ද නව ගිවිසුමෙහි ශුද්ධ මතෙව්තුමාගේ සුබසුනෙහි අන්තර්ගත කන්ද උඩ දේශනාව ද ඇසුරින් කිතුනු අපගේ ජීවිතවලට ගෙනෙන මග පෙන්වීම අධ්‍යයනය කරමු.**

ශුද්ධ බයිබලයේ මුල් පොත වන උත්පත්ති ග්‍රන්ථයේ සිට අවසාන ග්‍රන්ථය වන එළිදරව් පොත දක්වා අඛණ්ඩව දිව යන්නේ එකම තේමාවකි. එනම් දෙවියන් වහන්සේ හා මනුෂ්‍යයා අතර ඇති සම්බන්ධතාවය යි.

උත්පත්ති පොතට අනුව දෙවියන් වහන්සේ විශ්වය මැවීමෙන් අනතුරු ව මනුෂ්‍යයා මැවූ සේක. සියලු සම්පතින් පරිපූර්ණ ලොවක් මනුෂ්‍යයාට දායාද කළ සේක. එහෙත් ආදම් සහ ඒව දෙවියන් වහන්සේගේ අණට අකීකරු ව පාපයට යොමු වූ ආකාරය පැහැදිලි කර ඇත. එතැන් පටන් මුළු මිනිස් සංහතිය ම වරින් වර දේව අණට පිටුපා අකීකරු වූ අන්දම ද දෙවියන් වහන්සේ දිවැසිවරු මගින් පණිවුඩ එවා එම තත්ත්වයෙන් මිනිසා ගැළවීමට උත්සාහ දැරූ ආකාරය ද ශුද්ධ බයිබලය වාර්තා තුළින් අනාවරණය කෙරේ.

එබඳු තත්ත්වයකින් මිනිසා නැවත තමා වෙතට යොමුකර ගැනීමට

දෙවියන් වහන්සේ මෝසෙස්ගේ නායකත්වය මගින් උන්වහන්සේගේ ව්‍යවස්ථාව ජනතාවට ප්‍රදානය කළ සේක. එහි සඳහන් දස පනත එදාට මෙන් අදටත් කිතුනු අපගේ ජීවිතයට ඔවදන් අත්වැලක් බව කිව යුතු ම ය. මිසර දේශයේ වහල්කමින් මුදාගෙන පොරොන්දු දේශය කරා ගෙන ගිය ඉශ්‍රායෙල් ජනතාවට නිසි මග පෙන්වීම ලබා දුන් එම දේව පනත අපට අදටත් යහපත් දිවි පැවැත්මකට දායාදය කි.

දෙවියන් වහන්සේ සමග සබඳතා පවත්වා ගැනීමටත් අප එකිනෙකා සමග යහපත් ජීවිතය ගත කිරීමටත් දස පනත තුළින් මග පෙන්වීම ලැබේ.




**පහත දැක්වෙන්නේ එම දස පනත සරල ලෙස සංක්ෂිප්ත ව ගොනු කිරීමකි.**

| දෙවියන් වහන්සේ හා මිනිසා අතර සම්බන්ධතාවය | මිනිසා හා මිනිසා අතර සම්බන්ධතාවය |
|---|---|
| 1. මා හැර අන් දෙවි කෙනෙක් නුඹට සිටිය යුතු නැත. | 5. පියාට ද මවට ද ගෞරව කරන්න. |
| 2. රූපවලට වන්දනා නොකළ යුතු ය. | 6. මිනී නොමරන්න. |
| 3. දෙවියන්වහන්සේගේ නාමය අගරු ලෙස භාවිත නොකරන්න. | 7. කාමමිථ්‍යාචාරය නොකරන්න. |
| 4. සබත් දවස ශුද්ධකොට පවත්වන්න. | 8. සොරකම් නොකරන්න. |
| | 9. අනුන්ට විරුද්ධව බොරු චෝදනා නොකරන්න. |
| | 10. අසල්වැසියන්ගේ දේට ඇළුම් නොවන්න. |
| දේව ගරු බිය ඇතිව දෙවියන් වහන්සේ සමග සබඳතාවයට ඉහත ආඥා අදාළ වේ. | මනුෂ්‍යයන් සමග යහපත් පැවැත්මට ඉහත ආඥා අදාළ වේ. |

## නව ගිවිසුමේ කන්ද උඩ දේශන ඇසුරෙන් කිතුනු අපගේ ජීවිතවල යහ පැවැත්මට ලැබෙන මග පෙන්වීම.




ජේසුස් වහන්සේ කිතුනු අප සමාන කර ඇත්තේ පොළොවේ ලුණු ලෙසත් ලෝකයේ ආලෝකය ලෙසත් ය. ලුණු නොමැති ආහාර නීරස ය. එසේ නම් අනුන්ගේ ජීවිත රසවත් කිරීමට උන්වහන්සේ අපගෙන් බලාපොරොත්තු වේ.

'ඔබ ලෝකයේ ආලෝකය ය' ජේසුස් වහන්සේ මෙලොවට වැඩම කළේ පාපයෙන් පිරුණු ලොවක සමාජයෙන් කොන් වූ ජනතාවගේ ජීවිත ආලෝකවත් කිරීමට ය. ඉන් අදහස් කරන්නේ අප අපගේ ජීවිත, අන් අයගේ අඳුරු ජීවිත ආලෝකවත් කිරීමට යොදා ගත යුතු බව ය.




එවක ජුදෙව් සමාජයේ ප්‍රචලිත ව පැවතුණේ කළ වරදට පළි ගැනීමේ ක්‍රියාවලියකි. එනම් 'ඇසට ඇස, දතට දත' යන්න යි. කෙනකු තමාට වරදක් කළ තැනැත්තාගෙන් පළි ගැනීම යි. එහෙත් ජේසුස් වහන්සේ පෙන්වා දී ඇත්තේ 'එකට එක නොකරන්න' කියා ය. කිතුනු දරුවකු ලෙස පළි ගැනීමෙන් නොව, ඔබට වරදක් කළ අයකු ප්‍රේමයෙන් පිළිගන්න. එය කිතුනු ආදර්ශයකි. අනාගතයේ දී සමාජයට පිවිසෙන ඔබ ක්‍රියා කළ යුත්තේ ද පළි ගැනීම වෙනුවට කරුණාව හා ප්‍රේමය පෙරදැරි කරගෙන ය.




ඔබේ සතුරන්ට ප්‍රේම කරන්න. ඔබට පීඩා කරන්නන් උදෙසා යාච්ඤා කරන්න. අපට යම් කෙනෙක් විරුද්ධ වී සතුරුකම් කළේ නම් එවැනි අය කෙරෙහි දැක්විය යුත්තේ කිතුනු ප්‍රේමය යි. ජේසුස් වහන්සේ සැමට ප්‍රේමය දැක්වූ සේක. උන්වහන්සේට සතුරුකම් කළ අය උදෙසා යාච්ඤා කර කමාව දානය කළ සේක. වර්තමාන සමාජයේ වෙසෙන අපට මෙසේ කිරීම අපහසු විය හැකි ය. එහෙත් ජේසුස් වහන්සේ එම ශක්තිය ලබා ගැනීමට අපට පිහිට වන සේක.




යාච්ඤාව කිතුනු අප සතු ඉතා ප්‍රබල අවියකි. අපගේ ජීවමාන දෙවි පියාණන් සමග කථා කිරීමේ හා උන්වහන්සේට සවන් දීමේ අවස්ථාව මින් විවෘත වේ. යාච්ඤාව තුළ දෙවියන් වහන්සේට ප්‍රශංසාව, කමාව යැදීම, අනුන් උදෙසා මැදහත් වීම, අපගේ අවශ්‍යතා කියා පෑමට අවස්ථාව ඇත.

යාච්ඤා කිරීමේ දී භාවිතා කරන ස්වාමින්ගේ යාච්ඤාවෙන් අපට ඉතා අගනා මග පෙන්වීමක් ලැබේ. යාච්ඤාව අපේ දෛනික අවශ්‍යතාවන්ට සීමා විය යුතු නොවේ. අප කළ යම් වරදකට දෙවිඳුන්ගෙන් අපට කමාව බලාපොරොත්තු විය හැක්කේ පළමුව අපට වරද කළ අයට අප විසින් කමා වුවහොත් පමණකි. ඔබ ගෙදර දී පාසලේ දී යහළුවන් සමග සිටින අවස්ථාවල දී ඔවුන් ඔබට යම් වරදක් කළහොත් කල්පනාකාරී ව එයට කමාව දීමට අමතක නොකරන්න. එය කිතුනු ගුණාංගය කි.

යාච්ඤාව දිගින් දිගට කරන විස්තරයක් නොවේ. ඕනෑම තැනක, ඕනෑම වෙලාවක ඔබට ජේසුස් වහන්සේ සමග වචන ස්වල්පයක් කථා කිරීමට පුළුවන. යාච්ඤාව දේව රාජ්‍යයේ පුරවැසියන්ගේ ජීවිතයේ වැදගත් අංගයකි. ජීවත් වීම සඳහා ආශ්වාස කිරීම අවශ්‍ය වන්නා සේ ආත්මික ජීවිතයට යාච්ඤාව අත්‍යවශ්‍ය වේ.




නොයෙක් දේ ගැන කරදර වීම පිළිබඳ ව ජේසුස් වහන්සේගේ අවවාදය වූයේ, කුමක් කමු ද? කුමක් බොමු ද? කියා ජීවිතය ගැනවත්, කුමක් අඳිමු ද? කියා ශරීරය ගැනවත් කරදර නොවන්න කියා ය. අහසේ පක්ෂීන් ව පවා බලා ගන්නා ස්වර්ගීය පියාණන් වහන්සේ අප රැක බලා ගෙන සියලු අවශ්‍යතා සපයන සේක. අප කනස්සල්ලට පත්වන අවස්ථාවල දී මෙම සහනදායක වචන සැනසීම ගෙන දේ.

අපගේ අවශ්‍යතා සියල්ල සපයන, අපට ප්‍රේම කරන, කමාව දෙන අපට ජීවමාන දෙවි පියෙක් ඉන්නා බව සත්‍යයකි. එදා මෙන් අදටත් අනාගතයටත් නිසි මග පෙන්වන ශුද්ධ බයිබලය අපේ පූජනීය ග්‍රන්ථය බව පිළිගනිමු.

**කටපාඩම් කරමු.**
**ගීතාවලිය 46:1**

ක්‍රියාකාරකම:

1. ශුද්ධ බයිබලයේ දස පනතේ පස්වන පනත හා සබැඳි ශුද්ධ ලියවිලි පාඨ පහක් සොයා ලියන්න.

2. දෙවියන් වහන්සේගෙන් අප කමාව ලැබීම සඳහා අප විසින් ඉටු කළ යුතු කොන්දේසි මොනවා දැ යි ලියන්න.

# 20. දාවිත්

**මැවුම්කාර දෙවියන් වහන්සේ අපගේ එඬේරා බව අපි දනිමු. ගීතාවලියේ අප කවුරුත් දන්නා 23 වන ගීතය එඬේරෙක් ව සිටි දාවිත්ගේ නිර්මාණයක් ලෙස පිළිගනිමු. එවැනි අර්ථවත් ගීතයක් නිර්මාණය කිරීමට දාවිත්ට හැකි වූයේ කෙසේ ද? එඬේර සේවය තුළ දෙවියන් වහන්සේ පිළිබඳ ව ඔහු අත්දැකීම් රාශියක් ලත් නිසා ය. දෙවියන් වහන්සේ කෙරෙහි පූර්ණ විශ්වාසය තබමින් හැදුණු වැඩුණු එඬේර දාවිත් ජනතාවගේ සිත් ගත් එඩිතර, නිර්භීත ඉශ්‍රායෙල් හි රජකු ලෙස අභිෂේක ලැබී ය.**

බෙත්ලෙහෙමෙහි විසූ එඬේරකු වූ ජෙස්සේ නම් ඉශ්‍රායෙලිතයාට පුතුන් අට දෙනකු විය. ඉන් බාලයා වූ දාවිත් බාල වයසේ පටන් පියාගේ බැටළුවන් රැක බලා ගැනීමට පුරුදු ව සිටියේ ය. දෙවිඳුන්ට ප්‍රේම කළ මේ දරුවා එඬේරකු ලෙස තැනිතලාවල කාලය ගත කරන විට නිතර ම අවදියෙන් සිටිමින් තම බැටළුවන් වන සතුන්ගෙන් බේරා ගැනීමට වග බලා ගත්තේ ය. දාවිත් වයසින් වැඩෙත් ම දෙවියන් වහන්සේගේ ආදරය ඔහු අත්දුටුවේ අත්දැකීම්වලිනි. ඒ බැටළුවන් රැක බලා ගැනීමට රුදුරු මෘගයන් හා පොර බැදීමට සිදු වූ කටුක අවස්ථාවල දී ය. තමාට තිබූ ගල් පටියෙන් ඉලක්ක කොට විදීමට ඔහු හපනෙක් විය. වීණා වාදනයට ද දක්ෂයෙක් විය. ඔහු දෙවිඳුන් තුළ ප්‍රබල විශ්වාසයක් තිබූ දේව ගරු බිය ඇත්තකු විය.

ජෙස්සේගේ පුතුන් තිදෙනකු සාවුල් රජුගේ හමුදා සේවයේ යෙදී සිටිය හ. දිනක් තම පුතුන් ගැන තොරතුරු දැන ගැනීමට ජෙස්සේ, දාවිත් පුතු ව පිටත් කර යැවී ය. එම ස්ථානයට පැමිණි විට ලත් ආරංචිය හා සිදු වූ සියල්ල දාවිත් දුටුවේ ය. ඉශ්‍රායෙල් ජනතාවට නිතරම විරෝධය පෑ පිලිස්තිවරුන්ගේ සේනා, ඒලා මිටියාවතේ කඳවුරු බැඳගෙන සටන් වැද සිටිය හ. සේනාවේ සිටි ගොලියත් නම් ගාම්භීර මල්ලවයා, ඉශ්‍රායෙල් ජනතාවට නින්දිත ලෙස අභියෝග කරමින් දාවිත් ඇදහූ දෙවිඳුන්ට පවා අපහාස කරමින් පෙරමුණට ආවේ ය. දාවිත්ට මෙය දරා ගත නොහැකි විය. දාවිත්, ගොලියත් මල්ලවයාට අභියෝග කිරීමට තීරණය කළේ ය. දාවිත් එහි සිටියවුන්ගෙන් ඇසූ ප්‍රශ්න හා පැවසූ වචන ඔවුහු සාවුල් රජුට දැන්වූහ.

**සාවුල් රජ හා දාවිත් අතර ඇතිවූ දෙබස විමසා බලමු.**




දාවිත්: රජතුමෙනි, කිසිවකු මේ පිලිස්තියයාට බිය විය යුතු නැත. ඔබේ මෙහෙකරුවා වන මම ගොස් මේ පිලිස්තියා සමග සටන් කරමි.

සාවුල්: මේ පිලිස්තියයාට විරුද්ධ ව ගොස් සටන් කරන්නට ඔබට බැරිය. මන්ද ඔබ කොළුගැටයෙකි. එහෙත් ඔහු තරුණ වයසේ පටන් භේවායෙකු ව සිටින්නෙකි.

දාවිත්: 'ඔබේ මෙහෙකරුවා වන මා, මගේ පියාගේ බැටළුවන් බලාගෙන සිටිය දී සිංහයකු හෝ වලසකු හෝ අවුත් රැලෙන් බැටළුවකු ගත්තොත්, මම ඌ පස්සේ ගොස් ඌට පහර දී ඌගේ කටින් බැටළුවා ගලවා ගන්නෙමි. ඌ මට කඩාපැන්න විට මම ඌ බෙල්ලෙන් අල්ලා ඌට පහර දී විනාශ කරන්නෙමි. ඔබේ මෙහෙකරුවා වන මම සිංහයන් ද වලසුන් ද විනාශ කර ඇත්තෙමි. ජීවමාන දෙවියන් වහන්සේගේ සේනාවලට නින්දා කළ මේ පිලිස්තියයාටත් මම එසේ කරමි........... (දැඩි විශ්වාසයෙන්)..... සිංහයාගේ නිය පහරින් ද වලසාගේ නිය පහරින් ද මා ගැලවූ සමිඳාණන් වහන්සේ මේ පිලිස්තියාගේ අතිනුත් මා ගලවන සේක."

මෙලෙස ගොලියත් ට එරෙහි ව අභියෝගය භාර ගත් දාවිත් ට සාවුල් රජතුමා, තමාගේ ඇඳුම් කට්ටලය ඇන්දවූ නමුත් ඒ නුහුරු පළඳනා ගලවා දමා ගොලියත් ඉදිරියට ගියේ තමාට සුපුරුදු සැරයටිය, ගල්පටිය හා දොලෙන් තෝරාගත් ගල් පහක් එඬේර මල්ලේ දමා ගෙන ය. ගොලියත්ගේ නින්දිත අපහාස ඉදිරියේ මුළු ඉශ්‍රායෙල් ජනතාව බියගුළු ව සිටිය ද දාවිත් නිර්භීත ව අභියෝගයට මුහුණ දුන්නේ ය. ඒ කෙසේ ද? දෙවියන් වහන්සේ කෙරෙහි තිබූ නොසෙල්වුණු විශ්වාසය නිසා ය. එම විශ්වාසයෙන් යුතු ව දාවිත් ගොලියත් ඉදිරියට පිවිසියේ ය.

පිලිස්තියේ මල්ලවයා ද ඉදිරියට ගමන් කරමින් දාවිත් ට දැඩි ලෙස අපහාස කළේය. තමන් අතින් සිදු වන දාවිත්ගේ විනාශය ගැන ද උදම් ඇනුවේ ය. ඒ මෙලෙස ය.

ගෝලියත්: තෝ සැරයටිය රැගෙන මා ළඟට එන්නේ මා බල්ලකු යයි සිතා ද? මා ළඟට වර, මම තාගේ මස් ආකාශයේ පක්ෂීන්ටත්, වනයේ මෘගයන්ටත් දෙන්නෙමි.

දාවිත්: තෝ කඩුවක් ද හෙල්ලයක් ද කුන්තයක් ද රැගෙන මා වෙත එන්නෙහි ය. මා තා වෙතට එන්නේ තා නින්දා කළ ඉශ්‍රායෙල් හමුදාවල සියලු බලැති දෙවි සමිඳාණන් වහන්සේගේ නාමයෙනි. අද දින සමිඳාණන් වහන්සේ තා මා අතට පාවා දෙන සේක. මම තට ගසා, තාගේ හිස කපා දමා පිලිස්තිවරුන්ගේ මළ කඳන් අද දවසේ ආකාශයේ පක්ෂීන්ට ද පොළොවේ වන මෘගයන්ට ද දෙන්නෙමි. මෙසේ ඉශ්‍රායෙල් කෙරෙහි දෙවි කෙනකු සිටින බව පොළොවේ සියල්ලන් දැන ගනු ඇත. ජය ගැනීමට සමිඳාණන් වහන්සේට කඩුවක්වත්, හෙල්ලයක්වත් වුවමනා නැති බව මුළු සමූහයා දැන ගනු ඇත."සටන සමිඳාණන් වහන්සේගේ ය. උන්වහන්සේ ඔබ අප අතට පාවා දෙන සේක."

දාවිත්ගේ වචන අසා ඔහුට මරු පහර දීමට පිලිස්තියයා ඉදිරියට පය තැබූ විට දාවිත් ගල් පටිය ගෙන නිවැරදි ඉලක්කය කරා සිහිඳු ගලකින් විද්දේ ය. උස මීටර් තුනක් පමණ වූ දැවැන්ත මල්ලවයාගේ නළල විදගෙන ගිය ගල ඔහු ව නිහඬ කළේ ය. මෙලෙස ගොලියත් විසින් ඉශ්‍රායෙල් ජාතියට කළ අවතක්සේරු ව ද දාවිත් ට කළ නින්දා අපහාස ද ඉශ්‍රායෙල් දෙවිඳුන්ට කළ ගැරහුම් ද නිමා විය.

**අප ද බාල කාලයේ පටන් දෙවි පියාණන්ට ආදරය කරමින් කීකරු ව උන්වහන්සේ තුළ විශ්වාසය වර්ධනය කර ගත යුතු වේ. එවිට අපට නිර්භීත ව අභියෝග ජය ගත**

සටනට අවශ්‍ය සියලුම ආයුධවලින් සන්නද්ධ ව සිටි යෝධ පිලිස්තියා මුළු ශක්තිය තැබුවේ තමා කෙරෙහි ය. දාවිත් බාහිර ආවරණ ඉවතලා එඩේර ආම්පන්න අතැති ව සර්ව බලධාරී දෙවිඳුන් කෙරෙහි විශ්වාසය තැබුවේ ය.

**අප කොතරම් දුර්වල වුවත් දෙවිඳුන් කෙරෙහි විශ්වාසය තැබීමෙන් ශරීර ශක්තීන් අභිබවා යන දේව ශක්තිය නොඅඩුව ලැබේ.**

ගොලියත්ට අවශ්‍ය වූයේ තමාගේ බල පුළුවන්කාරකම් ප්‍රදර්ශනය කර ජනප්‍රියත්වයෙන් නැගී සිටීමට ය. දාවිත් සැක රහිත ව පූර්ණ බලාපොරොත්තුව තැබුවේ දේව ගරුබිය ඇතිව දේව නාමය ගෞරවයට පත් කිරීම ය.

දෙවියන් වහන්සේ අපට දී ඇති දීමනා වර්ධනය කර ගනිමින් උන්වහන්සේට සියලු ගෞරවය හා ප්‍රශංසාව පිදිය යුතු වේ.

ගොලියත්ගේ සටනේ අරමුණ වූයේ ජීවිත විනාශය යි. දාවිත් අභියෝගයට මුහුණ දුන්නේ ජීවිත රැක ගැනීමට යි.

අප ද ජීවිත නගා සිටුවීමට, බිය නැති කිරීමට, සහනය ලබා දීමට ඉදිරිපත් විය යුතු වේ. එලෙස ඉදිරිපත් වන විට දෙවිඳුන්ගේ අනුග්‍රහය අපට ලැබෙනු ඇත. නපුරු බලවේග ජය ගැනීමට දෙවියන් වහන්සේගේ පිහිට හා මග පෙන්වීම සෙවිය යුතු වේ.

දාවිත් නපුර පරාජය කිරීමට දෙවිඳුන්ගේ බලය තුළ රැඳී සිටියේ ය.

දේව දරුවකු වන ඔබගෙන් දෙවියන්වහන්සේට ඉටු කර ගැනීමට අරමුණක් ඇත. ඒ සඳහා විවිධ දීමනා උන්වහන්සේ ඔබට දායාද කර ඇත. ඒවා වර්ධනය කරගෙන එඩිතර ව නිර්භීත ව උන්වහන්සේට කීකරු ව ජීවත් වන්න.

**කටපාඩම් කරමු.**
**ගීතාවලිය 11:7**

ක්‍රියාකාරකම:

1. ඔබ ලත් විශේෂ දීමනාවක් තෝරා ගෙන එමගින් දේව ගෞරවය පිණිස
    1. ඔබ අයත් සභාව උදෙසා
    2. සමාජයේ යහපත උදෙසා
    3. ඔබගේ පවුල උදෙසා

    කළ හැකි සේවය පැහැදිලි කරන්න.

2. පාඩමේ ඇති දෙබස් උපයෝගී කරගෙන සිද්ධිය පන්තියේ රඟ දක්වන්න.

# 21. මීරියම්

**දේව විශ්වාසය මත ජයාන්විත ව නපුර ඉවත් කළ දාවිත්ගේ නිර්භීත ක්‍රියාවලිය අප ජීවිතවලට ආදර්ශයක් ලබා දුන් ආකාරය පෙර පාඩම් තුළින් උකහා ගත්තෙමු. අද අප යොමු වන්නේ මිසරයේ විසූ ඉශ්‍රායෙල් පවුලක් පීඩාවකට මැදි වූ අවස්ථාවක දී එම පවුලේ දියණිය ක්‍රියාකාරී වෙමින් ධෛර්යමත් ව එම තත්වයට මුහුණ දුන් ආකාරය අධ්‍යයනය කිරීමට ය. ඒ මගින් පවුල තුළ ජීවත් වීමේ දී අපගේ වගකීම් වටහා ගැනීමට ආලෝකයක් ලැබෙනු නිසැක ය.**

පැරණි ගිවිසුම් යුගයේ සාගතයකට මුහුණ දුන් ආදී පීතෘ ජාකොබ්ගේ පවුල ඉන් මිදීමට මිසරයට ( ඊජිප්තුව) ගොස් පදිංචි වූහ. එහි ගත කළ කාලය තුළ මෙම පවුල ගණනින් වැඩි වර්ධනය විය. මිසර රජතුමා වූ පාරාවෝ ඉශ්‍රායෙල් ජන සංඛ්‍යාව වර්ධනය වීම මර්ධනය කිරීමට විවිධ අන්දමට උපක්‍රම යෙදී ය. එහෙත් කිසිවක් සාර්ථක නොවී ය. වඩ වඩා ජනගහන වර්ධනය සිදු විය. එවිට රජතුමා දරුණු නීතියක් පනවා ඉශ්‍රායෙල් පවුල්වලට උපදින පිරිමි දරුවන් නයිල් ගඟට විසි කළ යුතු බව අණ කළේ ය. ඉශ්‍රායෙල් ජනතාවට මිසරයේ දී ව්‍යවහාර කළේ හෙබ්‍රෙව් යන නාමය ය.

මිසරයේ පදිංචි වී සිටි ලෙවී ගෝත්‍රයට අයත් අම්රම් හා ජොකෙබෙද් යුවලට මුල දී දරුවන් දෙදෙනෙක් සිටිය හ. වැඩිමල් පුත්‍රයා හා දියණියගේ නාම ආරොන් හා මීරියම් විය. මේ කාලයේ දී මෙම පවුලට තෙවන දරුවා ද එක් විය. හේ පිරිමි බිලිඳෙකි. දැන් මෙම පවුල ඉදිරියේ බැරෑරුම් ගැටළුවක් මතු විය. එනම් පාරාවෝගෙන් මේ පුංචි බිලිඳාගේ ජීවිතය රැක ගැනීම ය.

**පවුල ක්‍රියා කළ ආකාරය අපි බලමු.**

**කියවා බලමු**

**නික්මයාම 2:5-9**



ජොකෙබෙද්: බලන්න මීරියම් දුව. චූටි මල්ලි ටිකන් ටික ලොකු වෙනවා අඬන ශබ්දය වැඩි වෙනවා. තවදුරටත් බබා ව සඟවා ගන්න අමාරු වෙනවා. හේවායන් ආවොත් අපි මොකද කරන්නේ ?

මීරියම්: අම්මේ අපි කොහොමද චූටි මල්ලි ව බේර ගන්නේ ? තාත්තේ අපිට බල බලා ඉන්න බැහැ. මල්ලි අඬනවා පිටතට ඇහුණොත් හේවායන් ඇවිත් මල්ලි ව උදුරගෙන යයි.

ජොකෙබෙද්: අපි පන් ගස් ගෙනත් කූඩයක් සාදා මල්ලි ව එහි තබා ගං ඉවුරේ තබමු. මල්ලි ඇඬුවත් කාටවත් ඇසෙන්නේ නැහැනේ.

මීරියම්: අපි අම්මා කියපු හැටියට කරමු. මම දුවලා ගිහින් පන් ගස් ගෙනෙන්නම්.

තම සහෝදරයාට තිබූ ආදරය නිසා අයියා හා අක්කා ක්‍රියා කිරීම



21:1 රූපය - මීරියම් පන් ගස් රැගෙන ඒම

ජොකෙබෙද් පන් ගස්වලින් කූඩය සාදන්නට පටන් ගත් විට පියා ද ආරොන් හා මීරියම් ද කඩිසරව ක්‍රියා කරමින් අවශ්‍ය දේ ගෙනැවිත් දුන්නෝය.

මීරියම්: මෙන්න අම්මේ අපි පන් ගස් ගොඩක් ගෙනාවා.

ජොකෙබෙද්: දැන් පෙට්ටිය ලෑස්තියි. දෙදෙනා ම උදව් කළ නිසා තමයි ඉක්මනට පන් පෙට්ටිය හැදුණේ.

මීරියම්: අපි මල්ලිට කිරි දීලා පෙට්ටියේ තබමු.

බිළිඳු මල්ලිට ඇති ආදරය නිසා පෙට්ටිය ආරක්ෂා සහිත ව සැකසුවා.

ජොකෙබෙද්: දැන්ම බැහැ. මෙය ගං ඉවුරේ තැබුවා ම සිදුරුවලින් වතුර එනවා .ඒ නිසා කීල් හා මැලියම් තවරන්න ඕනෑ.

(මීරියම් හා ආරොන් දුව ගොස් එම ද්‍රව්‍ය ගෙනවිත්, පෙට්ටිය අඩියේ තවරා සිදුරු වැසී ය.)

ජොකෙබෙද්: දුවේ දැන් මල්ලි ව මේ පෙට්ටියේ තබා ගං ඉවුරේ තියමු.

මීරියම්: අම්මේ. මා බට පඳුර අතරේ හැංගී මල්ලි ව බලා ගන්නම්.

සහෝදර ප්‍රේමය නිසා මීරියම් ධෛර්යයෙන් මල්ලි ව සුරැකීමට ඉදිරිපත් වීම.



21:2 රූපය - මීරියම් මල්ලී ව සඟවා රැක බලා ගනිමින්

(මීරියම් මෙලෙස බලා සිටිය දී සිදු වූයේ මහා පුදුමයකි. ගංගාවේ දිය නෑමට පැමිණියේ පාරාවෝ රජුගේ දියණිය යි. රජ කුමරිය දිය නාද්දී ඇයගේ සේවිකාවෝ ඉවුර එහා මෙහා ඇවිදිමින් සිටිය හ. කුමාරිකාව පං පෙට්ටිය දැක එය ගෙන එන්නට සේවිකාවක් යැවී ය.

කුමරිය හඳුනාගත් මීරියම්, බලා සිට ඇයගේ සිතට ධෛර්යය ගත්තා ය.

කුමාරිකාව: අනේ ලස්සන හෙබ්‍රෙව් බිළිදෙක්නේ. එයා අඬනවා. බඩගිනි ඇති. ඉතිං කවුද මේ දරු පැටියාට කිරි දෙන්නේ මට ඕනෑ මේ බබා ව හදා ගන්න.

සැඟවී සිටි මීරියම් එඩිතර ව කුමරිය වෙත පැමිණියා ය.

මීරියම්: කුමරියනි, මම ගිහින් කිරි මවක් එක්කරගෙන එන්න ද?

කුමරිය: අනේ එය නම් ලොකු උපකාරයක්

මීරියම්: මම දුවලා ගිහින් කිරි මවක් කැඳවාගෙන එන්නම්.

මීරියම් තමාගේ මල්ලීට පෝෂණය ලබා දීමට ආදරයෙන් ක්ෂණික ව ඉදිරිපත් වූවා ය.

කුමරිය: ඔබට බොහොම ස්තුතියි. කිරි මවක රැගෙන ආවාට. අම්මේ, මේ දරුවාට කිරි දී හදා වඩා ටිකක් ලොකු වුනාම මගේ මාලිගයට ගෙනවිත් දෙන්න.

ජොකෙබෙද්: හොඳයි කුමරියනි. ඔබතුමියගේ ඉල්ලීම මා නොවරදවා ඉටු කරන්නම්.

කුමරිය: මම මේ චූටි පුතාට "මෝසෙස්" කියා නම දෙනවා. එහි අර්ථය ඔහු ව වතුරෙන් ගොඩ ගත් බව සිහි කිරීමට යි.

මීරියම්ගේ සහෝදර ප්‍රේමය පුදුමාකාර ය. ඇයගේ ධෛර්යය හා වැයවීම අනගි ය. තම මල්ලී ව කෲර මරණයෙන් ආරක්ෂා කරගෙන, ඔහු ව ජීවත් කරවීමට මීරියම් ක්‍රියා කළ ආකාරය අපටත් උතුම් ආදර්ශයකි.

මෙලෙස නිරතුරු ව දේව ආරක්ෂාව තුළ හැදුණු වැඩුණු මෝසෙස්, දේව සැලසුම අනුව පසු කාලයේ දී මිසරයේ වහල් බැම්ම තුළ පීඩා විඳි ඉශ්‍රායෙල් ජනතාව මුදවා ගැනීමට නායකත්වය ගත්තේ ය. ඒ දේව කැඳවීම අනුව විය.

මෙම පාඩමෙන් අපට හමු වූ දිරිය දැරිය සැම කිතුනු දැරියකට ම ආදර්ශයකි. අප අයත් පවුල්වල සහෝදර ප්‍රේමය සුහදතාවයෙන් වර්ධනය කළ යුතු වේ. දෙමව්පියන්ට, සහෝදර සහෝදරියන්ට උපකාර කරමින්, ඔවුන් ව අගය කරමින් අවස්ථානෝචිත ව ඔවුන් වෙනුවෙන් කැප වී වැය විය යුතු වේ. දිරිය මීරියම්ගේ ආදර්ශය අනුව දේව ගරු බිය ඇතිව ජීවත් වන්න දේව පිහිට පතන්න.

**කටපාඩම් කරමු.**
**නික්මයාම 2:10**

ක්‍රියාකාරකම:

1. මීරියම් තම සහෝදරයා රැක ගැනීමට ගත් පියවර ලියන්න.

2. ඔබගේ නිවසේ දී සහෝදර සහෝදරියන්ගේ යහපත උදෙසා ඉටු කළ හැකි ක්‍රියා මාර්ග 5ක් ලියන්න.

# 22. සාමුවෙල්

**අද අප අධ්‍යයනය කරන්නේ දෙවියන් වහන්සේගේ හඬ තමාට ඇසුනු ලාබාල දරුවකු ගැන ය. දෙව් පියාගේ දරුවකු වන ඔබට, කවදා හෝ උන්වහන්සේගේ හඬ ඇසුණු විට, ඊට සවන් දී ප්‍රතිචාර දීමට මෙම පාඩමෙන් ඔබට අවබෝධයක් ලැබෙනු නිසැක ය. ඔබ වයසින් වැඩෙන අතර ඉගෙනීමේ කටයුතුවල නිරත වන අතර සමිදාණන් වහන්සේ ගැන ද දැන ගැනීමට වෑයම් කරන්න. උන්වහන්සේ හා සබඳතාවයක් ගොඩ නගා ගත් විට උන්වහන්සේගේ හඬට සවන් දීමට අනගි අවස්ථාවක් උදාවීම නොඅනුමාන ය.**

**කියවා බලමු**

**1 සාමුවෙල් 3: 1-10**



ජුදෙව් පවුලක් වූ එල්කානා හා හන්නා, රාමා හී විසූ හ. හන්නාට දරුවන් නොලැබුණු නිසා දැඩි සිත් වේදනාවෙන් කල් යැවී ය. අවුරුදු පතා ශීලෝහී දෙවියන් වහන්සේගේ මැදුරට ගොස් පූජාවන්ට සහභාගී වීම මොවුන් අත පසු කළේ නැත. එක අවස්ථාවක දී මෙම වතාවත් සඳහා ගිය විට හන්නා ඉතා ඕනෑ කමින් ගැඹුරු විශ්වාසයෙන් කඳුළු සලමින් යාච්ඤාවක් ඔප්පු කළා ය. යැදුම වූයේ දෙවියන් වහන්සේගෙන් පිරිමි දරුවකු ලබා ගැනීමට ය. ඒ සමග ඇය පොරොන්දුවකින් බැඳුණි. එනම් එම දරුවාගේ මුළු ජීවිත කාලය ම දෙවිඳුන්ගේ සේවයට කැප කිරීමට ය. ඇගේ හදවතින් ගලා ආ යාච්ඤාවේ ස්වරූපය දුටු ශීලෝ මැදුරෙහි ඒලී පූජකතුමා දෙවිඳාණන් ඇයගේ යැදුමට පිලිතුරු දෙන බවට පොරොන්දුවක් දුන්නේ ය.

එම බලාපොරොත්තුව එලෙස ම ඉටු විය. හන්නා තම පුතුට සාමුවෙල් යන නම තැබී ය. එහි අරුත "**දෙවියන් වහන්සේගෙන් ඉල්ලා ගත්**" යනු යි. හන්නා දුන් පොරොන්දුව අනුව ලාබාල වියේහී දී ම ශීලෝ හි දෙව් මැදුරේ සේවයට දරුවා කැප කළා ය. වාර්ෂික ව තම පුතා බැලීමට හන්නා ශීලෝ

කරා ගියා ය. ඒලී පූජකතුමාගේ රැකවරණය තුළ දේව භය ඇති ව සාමුවෙල් වැඩුණි.

එක් රැයක ඒලී පූජකතුමා සිය කාමරයේ සැතපී සිටි අතර සාමුවෙල් දරුවා ගිවිසුම් කරඬුව තැන්පත් කර තිබූ ශුද්ධ ස්ථානයේ නිදා සිටියේ ය. එහි පහන දැල්වෙමින් තිබුණි. (දසපනත තැන්පත් කර තිබුණේ ගිවිසුම් කරඬුව තුළය.) එවිට හඬක් . . . .

සමිඳාණන් වහන්සේ: සාමුවෙල්, සාමුවෙල්,
(දරුවා නැගිට, විගස දුව ගියේ ඒලී පූජකතුමා තමාට හඬ ගසන බව සිතමිනි. )

සාමුවෙල්: මම මෙහි ය. ඔබ මට අඬ ගැසුවෙහි ද?

ඒලී පූජකතුමා: මම ඔබට අඬ නොගැසීමි; නැවත ගොස් නිදා ගන්න.

සමිඳාණන් වහන්සේ: සාමුවෙල්, සාමුවෙල් ( දෙවන වරට )

( සාමුවෙල් නැගිට ඒලී පූජකතුමා ළඟට ගොස්)

සාමුවෙල්: ඇත්තටම ඔබ මට අඬ ගැසුවෙහි ය. මෙන්න මම මෙහි ය.

ඒලී පූජකතුමා: මගේ පුත්‍රය, මම ඔබට අඬ නොගැසීමි. නැවත ගොස් නිදා ගන්න.

සමිඳාණන් වහන්සේ: සාමුවෙල්, සාමුවෙල් ( තෙවන වරට )
(සාමුවෙල් නැවත ඒලී පූජකතුමා ළඟට ගොස්)

සාමුවෙල්: ඔබ මට කථා කළෙහි ය. මෙන්න මම මෙහි ය.

(මෙම අවස්ථාවේ දී පූජකතුමා තේරුම් ගත්තේ සමිඳාණන් වහන්සේ සාමුවෙල් අමතන බව ය.)

ඒලී පූජකතුමා: ඔබ ගොස් නිදාගන්න. ඔබට නැවත එසේ අඬගැසුවොත්, මෙලෙස කියන්න "සමිඳාණන් වහන්ස, කථා කළ මැනව; ඔබවහන්සේගේ මෙහෙකරුවා සවන් දී සිටිනවා.

සමිඳාණන් වහන්සේ: සාමුවෙල්, සාමුවෙල්

සාමුවෙල්: "කතා කළ මැනව; ඔබවහන්සේගේ මෙහෙකරුවා සවන් දී සිටිනවා" යි පැවසී ය.

සමිඳාණන් වහන්සේ සාමුවෙල්ට දැනුම් දුන්නේ පූජක ඒලීගේ පුතුන්ගේ අයහපත් හැසිරීම් රටාවත් උන්වහන්සේගේ අනාගත සැලසුමත් පිළිබඳ ව ය. සාමුවෙල් දේව හඬට සවන් දුන් ආකාරය දැන් පැහැදිලි ය.

**සාමුවෙල් තුන් වතාවක් ම ඒලී පූජකතුමා වෙතට යාම, එතුමාට කීකරු ව ඇහුම්කන් දී අවවාද පිළිගෙන ඒ අනුව ක්‍රියා කිරීම අපට ආදර්ශයකි.**

**මෙම සිද්ධිය තුළින් අපට ඉගෙන ගැනීමට බොහෝ දේ ඇත.**

❖ හන්නා තම ආදරණීය පුත්‍රයා ජීවිතාන්තය දක්වා දේව සේවයට කැප කළා ය.

❖ බාල වියෙහි සිට සාමුවෙල් දේව අභිමුඛත්වයේ ඇති දැඩි විය.

❖ දෙවියන් වහන්සේගේ කැඳවීමට වයස් සීමාවක් නැත.

❖ උන්වහන්සේගේ හඬට සවන් දීමට නිරන්තරයෙන්ම සූදානම් ව සිටිය යුතු වේ.

❖ අපට නිසි ලෙස තේරුම් ගත නොහැකි දේ දැන ගැනීමට වැඩිහිටියන්ගේ පිහිට පැතීම යහපත් වේ.

❖ මව්පියන්, පූජකවරු, ගුරුවරුන්ගේ අවවාද, අනතුරු ඇඟවීම්වලට ඇහුම්කන් දිය යුතු වේ.

❖ දේව වචනය වටහා ගැනීම දිනපතා යාච්ඤාවේ යෙදීම, දේව නමස්කාරයට සහභාගී වීම දෙවියන් වහන්සේ දේව දරුවන්ගෙන් බලාපොරොත්තු වේ.

❖ දේව හඬ ශ්‍රවණය කළ විට නිහතමානී ව බැහැපත් ව ස්තුතිවන්ත ව යටත් විය යුතු වේ.

ලාබාල වයසෙහි පසු වූ සාමුවෙල්ට කථා කළ දෙවියන් වහන්සේ උන්වහන්සේ සැලසුම් ඉදිරියට ගෙන යන්නට ඔබ වැනි දේව දරුවන් සූදානම් කරන සේක. උන්වහන්සේ කැඳවන කුමන සේවයකට වුව ද ඵලදායී ප්‍රතිචාර දැක්වීම අපගේ  වගකීම හා යුතුකම ය.

**කටපාඩම් කරමු.**
**1 සාමුවෙල් 3:10**

ක්‍රියාකාරකම

1. සාමුවෙල් යන නාමයේ අර්ථය ලියා එම නම ලැබුණේ කෙසේ දැයි පහදන්න.

2. දේව හඬ අපට ඇසෙන මාර්ග තුනක් ලියා දක්වන්න.

මෙම පොතේ අන්තර්ගත රූපසටහන් සියල්ල අන්තර්ජාලය ඇසුරින් ලබාගන්නා ලදී.